සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ බක් මස (ව්‍යවහාරික වර්ෂ 2018 අප්‍රේල්)

79 වෙනි කලාපය



## සසර ගමන එතරම්ම භයානකය...

රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# වසල ගති දුරලමු...

පව පින නොහඳුනන බුදු බණ දැනුම මඳ
අව ගුණයට ගැතිව පවටම බරව හිඳ
භව දුක මහත ගැන නොතකන දුදන දද
මව සහ පියා හට වුව හැදු පිහිට වෙද

කළ ගුණ නොසළකන හද පිරි වසල ගතී
මිල කළ නොහැකි බුදු දහමට සැදැහැ නැතී
කුල ධන බල රකින අය අද සුලබ වෙතී
කෙළවර මොවිහු යම රජු අබිමුවට යතී

සත් ගුණ දහම් නොතකන අධම අදම්ටු
අත් කර අනුන් සතු දෙය බුදින පරපුටු
මත් වුන සෙයින් අව ගතිවලිනි මිසදිටු
සිත් ලෙස වසත් අනුනට කරති තරවටු

ලොකු කම හිතට ගෙන කුල මල බදා ගෙන
නැති කම දුටු විටදි බැරි අය පෙළා ගෙන
හැකි කම මහ මෙරකි එපරිදි සිතා ගෙන
වසලම පවිටු ගති කුමටද දරා ගෙන

ඇති අය සුව පහසු ලෙස දිවි ගෙවන සඳ
නැති බැරි පිරිස දුබලය අසරණය අද
නිති පන්සිල් රකින බොදුවනි පෙරට වැද
අති බහුතරය මෙම රැක ගනු ඇහැකි ලෙද

සත් හට පිහිට වුන බුදු හිමි කරුණා වෙන්
තෙත් කළ සේක දන හද මෙත් දහරා වෙන්
අත් කර ඇති විපත අද මහ පරිමා වෙන්
නෙත් හැර බලනු සුරිඳුනි රට කම්පා වෙන්

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# නිවන් මගේ පැටළුණු තැන්...



**03 කොටස**

මේ වෙනකොට නිවන් අරමුණු කරගෙන බණ භාවනා කරන පිංවතුන්ට ඇතිවෙලා තියෙන ගැටළු සම්බන්ධයෙන්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් අත්දැකීම් සහිතව විග්‍රහ කරන්නට යෙදුන තවත් දහම් විග්‍රහයක් පින්වත් ඔබගේ දැන ගැනීම සඳහා මේ විදිහට සටහන් කරනවා.

ආනාපාන සති භාවනාව ගැන කතා කරනකොට, පරිමුඛයට හිත යොමු කරල, හුස්ම රැල්ලේ ස්වභාවය දකිමින් ඉන්නකොට වැටහෙන ස්වභාවය මොකක්ද කියල හුඟ දෙනෙකුට ප්‍රශ්නයක් තියෙනවා. මේ කාරණයත් විග්‍රහ කරල තේරුම් ගත යුතු තැනක්. ලෞකික ක්‍රමය අනුව, පරිමුඛ කියන්නෙ මුඛය වට කරල පිහිටි මුහුණු පෙදෙස. හුස්ම රැල්ල වදින උඩු තොල හෝ නාසය අගට හිත තියාගෙන, උඩට පහතට යන හුස්ම බලාගෙන ඒ ගැන අවධානයෙන් සිටීම මේ ලෞකික ක්‍රමයෙන් අදහස් කරනවා. "පරිමුඛං සතිං උපට්ඨපෙත්වා සෝ සතෝව අස්සසති සතෝව පස්සසති" කියන කාරණය අද තෝරල තියෙන්නෙ මේ විදිහට.

මේ ගැන විමර්ශනය කරනකොට පෙනී යන්නෙ, වායෝ කසිනය අරමුණු කරල ධ්‍යාන ලබන ක්‍රමවේදයක් බව. මෙතැනදී කය සැහැල්ලු වෙලා උඩ ගියා වගේ වැටහිලා, වායුවේ නිදහස් සැහැල්ලු ස්වභාවයට හිත පිහිටල ධ්‍යානයට යන ක්‍රමයක් තියෙනවා. මෙතැනදී සිද්ධ වෙන්නෙ, ලෞකික අරමුණක් අල්ලගෙන දැහැන්ගත වීම. ඒකෙන් වායෝ කසින චතුර්ථ ධ්‍යානය ලබන්න පුළුවන්.

ලෞකික අරමුණින් නිදහස් වීමක් නැති නිසා, මේ ක්‍රමය ලෞකික සමථය ලබා දෙන නිසයි සමහර කර්මස්ථානාචාර්යවරු මේ ක්‍රමය වඩල, ඒකෙන් මිදිල නැවත විදර්ශනා භාවනාවක් කරන්න උපදෙස් දෙන්නෙ. නමුත් ආර්ය හෙවත් ලෝකෝත්තර ආනාපාන සතියෙදි සමථ විදර්ශනා යුගනද්ධව වැඩෙන නිසා ධ්‍යානයෙන් මිදිල වෙනම විදර්ශනා වැඩීමක් නෑ.

පැරණි අටුවාවලත් සඳහන් වෙන විදිහට, ආර්ය විනයේ "පරිමුඛං සතිං" **කියන්නෙ නිවන පෙරටු කරගෙන සතිය පිහිටුවා ගැනීම.** මේකෙන් පෙන්වන්නෙ, අනිච්ච වශයෙන් හෝ දුක්ඛ වශයෙන් හෝ අනත්ත වශයෙන් හෝ බලමින් පංච නීවරණ ඉවත් වුන සිතට දැනෙන, ලෞකික නොවූ අරමුණක් වන "ඒතං සන්තං ඒතං පනීතං යදිදං සබ්බ සංඛාර සමථෝ සබ්බූපධි පටි නිස්සග්ගෝ තණ්හක්ඛයෝ විරාගෝ නිරෝධෝ නිබ්බානන්ති" කියල පෙන්වපු නිවන තේරුම් අරගෙන ඒ නිවීමේ ශාන්තියට හිත පිහිට විය යුතු බව.

**කෙනෙක්ගෙ මුහුණ හදවත පෙන්වන කැඩපතක් වගේ. සතුටට හිනාවෙනකොට, සෝක සංවේග එනකොට, තරහ එනකොට, මුඛයෙන් ඒ ඒ ආකාරයන් පිළිබිඹු වීමෙන් ඒ කාරණය සනාථ වෙනවා. නීවරණවලින් වෙන් වෙලා නිවනට හිත පිහිටියම නිදහස් ශාන්ත ස්වභාවය මුඛය ආශ්‍රිත මුහුණට හොඳින් දැනෙනවා.** ඒ ස්වභාවය අරමුණු කිරීම සහ හිතට දැනීම කාරණා දෙකක්. අරමුණු කළොත් ලෞකික සංඛාරයක් වැඩෙනවා. මුහුණ හෝ හුලං රැල්ල නිවන නෙවෙයි. ඒ නිසා නිදහස් වෙච්ච ශාන්ත ස්වභාවයට හිත තියන්න ඕන. එතකොට ලෞකික අරමුණක් නොවන නිදහස් ස්වභාවය වෙනම දැනෙන්න ගන්නවා.

මේ ශාන්ත චිත්ත ස්වභාවය හේතු කොටගෙන, පෙර රාග, ද්වේශ, මෝහ නිසා කායිකව සිද්ධ වෙච්ච විකෘතිතාවයන් (පාප ගති නමැති කාන්දමට අහු වෙලා බැඳිල තිබ්බ්ච්ච) ගැලවිලා නිදහස් වෙලා ශරීරයෙන් බැහැර වෙන්න පටන් ගන්නවා. මේවා පිට කිරීම සඳහා ආශ්වාස ප්‍රාශ්වාස ක්‍රියාවලිය බලවත් වෙනවා. **රාග, ද්වේශ, මෝහ නිසා කායිකව ගොඩ නැඟුන විස සංයෝග ඉවත් වෙනකොට කායික සුඛ විහරණය නැගෙන්න පටන් ගන්නවා.** එතකොට නිරාමිස ප්‍රීතිය සමග කාය පස්සද්ධිය (සැහැල්ලුව) සහ චිත්ත පස්සද්ධිය නැගෙන්න පටන් ගන්නවා. කායික මානසික සුවය බලවත් වෙනවා. විවේක සුවය, ලෝක ධර්ම සංසිඳීමෙන් ලැබෙන ඒකාග්‍රතාවය බලවත් වෙනවා.

මේ තමයි ලෝකෝත්තර මගට උපනිශ්‍රය වන ආර්ය සම්මා සමාධිය. මේ සමාධිය වැඩෙනකොට දුක දාහය ඇති කරන ලෝක ස්වභාවයන් ගොඩ නැගෙන හේතු කාරක පේන්න දැනෙන්න ගන්නවා. ඒ හේතු නිරෝධයෙන්, ඒ හේතූන්ගේ ඵල වශයෙන් ගොඩ නැඟුන දුක දාහය සංසිඳෙන ආකාරය වැටහෙන්න ගන්නවා. පෙර සාමාන්‍යයෙන් දැකල තිබ්බ්ච්ච අනිච්ච, දුක්ඛ, අනත්ත බලවත් විදිහට අත්දකින ඥානය පහල වෙනවා. සෝතාපන්න ඵලයෙන් දැනගෙන හිටපු ආර්ය සත්‍ය දර්ශනය ප්‍රඥාවෙන් අත්දකිනකොට රාග, ද්වේශ,

මෝහ අනුශය සමග ක්‍රමයෙන් නිරෝධ වෙමින් ප්‍රඥාව තව තවත් වැඩෙනවා. ඉතිරි මග ඵල පූර්ණ වෙනවා. මේ තමයි ඒ න්‍යාය ධර්මය.

නමුත් විදර්ශනා භාවනා පන්තිවලදී, එහෙම නැත්නම් කර්මස්ථානාචාර්යවරු, සාම්ප්‍රදායිකව උදයව්‍ය ඥානය කියන්නෙ, ඇතිවීම නැතිවීම දැකීම කියල පෙන්වනවා. ඒක වටහා ගන්නෙයි කියල, පය ඔසවන්න හිතක් ඇති වුනා, ඒ සමග එසවීමේ ක්‍රියාව සිද්ධ වුනා, ඉදිරියට ගෙනියන්න හිතක් ඇති වුනා, ඒ සමග ඉදිරියට පය ගෙනියන ක්‍රියාව සිද්ධ වුනා, ක්‍රියාව අවසාන වෙනකොටම ඒ සිතත් ක්‍රියාවත් අවසන්... ආදී වශයෙන් පෙන්වනවා. මේ ක්‍රමයට හැම ඉරියව්වක්ම හිතක් සමග ගොඩනැගිල හිත සමග ක්‍රියාත්මක වෙලා, ඒ ක්‍රියාව අවසන් වෙනකොටම ඒ සමග ක්‍රියාත්මක වෙච්ච හිතත් අවසානයි කියල පෙන්වනවා.

මේ ක්‍රියාවලිය මේ විදිහට දකිනකොට, ඇතිවෙන නැතිවෙන දේ මිසක් පවතින දෙයක් කොතැනකවත් දකින්න නෑ කියල භංග ඥානය පහළ වෙන බව පෙන්වනවා. නමුත් මේ ක්‍රියාදාමය දැකීම තුලින් හේතු සහිතව අත්දැකපු යම් අකම්ප්‍ය සමාධියක් ලබපු කෙනෙක් ගැන අහන්න ලැබිල නෑ. ඉහත කිව්ව විදිහට, **වෙන කිසිම අරමුණක් හිතන්නෙ නැතිව ඒ ඒ මොහොතේ ක්‍රියාව ගැනම හිතමින් පුරුදු පුහුණු කළාම, කාලයක් යනකොට අතීත අත්දැකීම් මත සිහි කරල ගොඩනගන වර්තමානය අමතක වෙනවා. අනාගතයේ යම් ඉලක්කයක් කරා ක්‍රියාවට නගපු වර්තමාන ක්‍රියා දාමයත් අමතක වෙනවා. කල් යනකොට නිච්චි නිනව් නැති මානසිකත්වයක් ගොඩනැගෙන්න වෙනවා.**

මේකෙ ප්‍රධාන ප්‍රතිඵලය තමයි අතීතය අමතක වීම, අනාගත ඉලක්කයන් අමතක වීම. උදාහරණ විදිහට, උවමනාවකට කොළඹ යන්න හිතල මගට බැස්සත්, මම කොහේ යන්නද මේ ලෑස්ති වෙලා කටයුතු කරන්නෙ කියල මතක නැති වෙනවා. සමහරවිට දරුවගෙ උප්පැන්න සහතිකය ගේන්න, එහෙම නැත්නම් අධ්‍යාපනයට අවශ්‍ය පොතක් ගේන්න හිතාගෙන ගමන යන්න සූදානම් වුනා නම්, මම මේ යන්නෙ මොකටද කියලත් අමතක වෙන්න පුළුවන්. මේ වගේ වෙනස් මානසික විපරීත ස්වභාවයන්, ඒ වගේ භාවනා කරල අවුරුදු 10 - 12 ක් ගත කරපු භික්ෂූන් වහන්සේලාගේ චර්යා රටාවන් විමසුම් නුවණින් බැලීමෙන් අත්දැකල තියෙන බව අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ පවසනවා. මේ තමයි උන්වහන්සේගේ අත්දැකීමක්.

එක්තරා භාවනා මධ්‍යස්ථානයක හාමුදුරුවො නමක් ළඟපාත පාර අයිනෙ තියෙන කඩයකට වැඩියා. මුදලාලි ඇහුවා, හාමුදුරුවනේ මොනවද ඕන කියල. මමත් මේ කල්පනා කරන්නෙ ඒකම තමයි කියල හාමුදුරුවො උත්තර දුන්නා. හාමුදුරුවනේ බ්ලේඩ් තලයක්ද? මම හිතන්නෙ බ්ලේඩ් තලයක් නෙවෙයි වෙන්නැති. එහෙනම් සබන් කැටයක්ද? මතක නැනෙ... මේ මම ඉදිරියේ පෙර කාලයක, ඒ කියන්නෙ එක් දහස් නවසිය අසූ ගණන්වල වෙච්ච සිද්ධියක්. හාමුදුරුවො ආපහු වැඩියට පස්සෙ, ඔන්න බලන්නකො මහත්තයෝ භාවනා කරන්න ගිහින් හාමුදුරුවන්ට වෙලා තියෙන දේ කියල මුදලාලි මාත් එක්ක කිව්වෙ එක්තරා සංවේග ස්වරූපයකින්.

එහෙම වුනේ ඇයි? බුදු රජාණන් වහන්සේ දේශනා කළ උදයව්‍ය ඥානය ඒක නෙවෙයි කියලයි මගේ අදහස. පටිසම්භිදා මග්ග ප්‍රකරණයේ අනිච්ච කියන වචනය මේ විදිහට විග්‍රහ කරල තියෙනවා. "ඛේනට්ඨේන අනිච්චා උප්පාද වයට්ඨේන අනිච්චා" මොන අරුතින්ද අනිච්ච කියන්නෙ? උප්පාද වය අරුතින් අනිච්ච කියන්නෙ.

උප්පාද කියන්නෙ ඥානයක් මිසක් ඇති වුනා කියල දැකීම නෙවෙයි. වය කියන්නෙ ඥානයක් මිසක් වැනසුනා කියල දැකීම නෙවෙයි. ඒ කියන්නෙ ඇති වුනා නැති වුනා කියන අදහස නෙවෙයි. මේ කාරණය පටිසම්භිදා මග්ගප්‍රකරණයේ විග්‍රහ කරන්නෙ මේ විදිහට.

උප්පාද දකින්නේ විසි පස් ලක්ෂණයක් දකී. වය දකින්නේ විසි පස් ලක්ෂණයක් දකී. උදයව්‍ය දකින්නේ පනස් ලක්ෂණයක් දකී.

නෙත්තිප්‍රකරණය කියන අටුවාවේ, පටිච්ච සමුප්පාදය දැකීම උදයව්‍ය දැකීම බවත්, පටිච්ච සමුප්පාද නිරෝධය දැකීම වය දැකීම බවත් පෙන්වා තියෙනවා. ඉහත මුලින් කියපු විදිහට උදය - වය දෙක පනස් ආකාර වෙන්නෙ මෙහෙමයි.

අවිද්‍යා ප්‍රත්‍යයෙන් රූප සමුදය වේ.

තණ්හා ප්‍රත්‍යයෙන් රූප සමුදය වේ.

කර්ම ප්‍රත්‍යයෙන් රූප සමුදය වේ.

ආහාර ප්‍රත්‍යයෙන් රූප සමුදය වේ.

නිබ්බත්ති ලක්ඛණයෙන් රූප සමුදය වේ.

ඉහත කී හේතු නිසා ගොඩනැගුන ඒ ඒ රූප, ඒ ඒ හේතු නිරෝධයෙන් නිරෝධ වෙනවා. මේ විදිහට රූප ගොඩනැගෙන හේතු පහයි, නිරෝධ වෙන හේතු පහයි. වේදනා, සංඥා, සංඛාර කියන මේවත් ඒ විදිහටම ගොඩනැගෙන හේතු 5 ක්, නිරෝධ වෙන හේතු 5 ක් තියෙනවා.

විඤ්ඤාණයත් අවිද්‍යා ප්‍රත්‍යයෙන් සමුදය වෙනවා. තණ්හා ප්‍රත්‍යයෙනුත්, කර්ම ප්‍රත්‍යයෙනුත්, නාම රූප ප්‍රත්‍යයෙනුත්, නිබ්බත්ති ලක්ඛණයෙනුත් සමුදය වෙනවා. ඒ ඒ ප්‍රත්‍ය අනුව ගොඩනැගුන විඤ්ඤාණ, ඒ ඒ ප්‍රත්‍ය නිරෝධයෙන් නිරෝධ වෙනවා.

මේ තමයි උදයව්‍ය ඥානය හෙවත් අනිච්ච දැකීම. මේ ටිකම තවත් ක්‍රමයකින් කියනව නම්, පටිච්ච සමුප්පාදය ගොඩනැගෙන ක්‍රමය හෙවත් පංචස්කන්ධය ගොඩ නැගෙන ක්‍රමය දැකීම උදය ඥානය වෙනවා. ඒ අවිජ්ජා පච්චයා සංඛාරා... ආදී වශයෙන්. ඒ පංචස්කන්ධය යළි ගොඩනොනැගෙන හෙවත් නිරෝධ වෙන ක්‍රමය පිළිබඳව දැනීම වය ඥානය වෙනවා. ඒ අවිද්‍යා යත් ත්වේව අසේස විරාග නිරෝධා සංඛාර නිරෝධෝ ආදී වශයෙන්.

**පටිච්ච සමුප්පාද උදාව සහ නිරෝධය දැකීම උදයව්‍ය ඥානය හෙවත් අනිච්ච දැකීම වෙනවා. තව විදිහකට කියනව නම් ධර්මය දැකීම. තවත් විදිහකට කියනව නම් චතුරාර්ය සත්‍යය දැකීම. තවත් විදිහකට කියනව නම් දහම් ඇස පහළ වීම. තවත් විදිහකට කියනව නම් සෝතාපන්න වීම.**

එතැන් පටන් අරිහත්වයට පත්වෙන කල්ම නිවන් මග පරප්‍රත්‍ය රහිතයි. කාගෙවත් උදව්වක් අවශ්‍ය නෑ. හැබැයි ධ්‍යාන, අභිඥා ආදිය පිළිබඳව කරුණු දැනගන්න නම් ගුරු ඇසුර අවශ්‍යයි. නමුත් ඒවා ඒකායන නිවන් මග නෙවෙයි, පරිවාර ධර්ම.

දැන් උදයව්‍ය දකින හැටි මේ විදිහට තේරුම් ගන්න ඕන. තමන්ට අසහනකාරී දුක්ඛ වේදනාවක්

අරමුණු වුනා නම්, මනස අසහනකාරීව ගොඩනැගෙන හැටි පේනවා. සුබ වූ සොම්නස් වේදනාවක් පහල වුනා නම්, ප්‍රිය මධුර බවක් ඇතිවෙලා ඒකට ඇලුම් කරන ස්වභාවයක් ගොඩ නැගෙනවා.

දැන් ඉදප්පච්චයතා පටිච්ච සමුප්පාදය කියන ක්‍රමවේදය තුලින් මේ විදිහට දැන ගන්නවා. යම් සැප වේදනාවක් දැනුනෙත් ඊට අනුරූප ස්පර්ශ ප්‍රත්‍යයෙන්. යම් දුක් වේදනාවක් දැනුනෙත් ඊට අනුරූප ස්පර්ශ ප්‍රත්‍යයෙන්. යම් උපේක්ෂා වේදනාවක් දැනුනෙත් ඊට අනුරූප ස්පර්ශ ප්‍රත්‍යයෙන්.

මේ තමයි විදර්ශනාවේ මූල සිද්ධාන්තය. සැප, දුක් හෝ උපේක්ෂා සහගත වූ වේදනාවන් ඇලීම් වශයෙන් හෝ ගැටීම් වශයෙන් හෝ මුළා වීම් වශයෙන් හෝ වුනා නම් ඒවා තණ්හාවටත්, පටිඝයටත්, විචිකිච්ඡා හෝ උද්ධච්චයටත් හේතු වෙන බව දකින්න ඕන. මේවා තමයි පාප මූල හෙවත් ලෝභ, ද්වේශ, මෝහ සහගත සසර ගමනට හේතු වෙන්නෙ.

වේදනා කියන්නෙ දැනෙන මාත්‍ර පමණයි. ඒවායින් දැනෙන ස්වභාවය ගොඩ නැගෙනවා. ඒවා රහතන් වහන්සේටත් තියෙනවා. ඒවා සසර ගොඩනගන්න හේතු නොවන නිසා අපිට ලොකු ප්‍රශ්නයක් නෙවෙයි. මේවා ස්පර්ශ ප්‍රත්‍යයෙන් ගොඩනැගෙන්නෙ අවිද්‍යා සහගත වේදනා. සසර ගමනට, දුකට හේතුවෙන විදිහට ගොඩනැගෙන්නෙ සංස්පර්ශ නිසා ගොඩ නැගෙන සංඵස්සජා වේදනා.

ස්පර්ශ ගොඩනැගෙන්නෙ ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන්ට රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන බාහිර ලෝකය ගෝචර වීම නිසා.

සංස්පර්ශ ගොඩනැගෙන්නෙ චක්ඛායතන - රූපායතන, සෝතායතන - ශබ්දායතන, ඝානායතන - ගන්ධායතන, ජිව්හායතන - රසායතන, කායායතන - පොට්ඨබ්බායතන, මනායතන - ධම්මායතන නිසා.

නිරෝධ කරන්න ඕන මේ කියන ආයතන යුගල හය මිසක් ඉන්ද්‍රියන් හය සහ ඒවාට ගෝචර ධර්ම නෙවෙයි.

සළායතන ගොඩනැගෙන්නෙ අවිද්‍යා සහගත විඤ්ඤාණ නිසා පහල වෙන අවිද්‍යා සහගත නාමරූප නිසා. ඒ නිසා දුරු කරන්න ඕන හිත - ගත කියන නාම රූපය නෙවෙයි, ඒ සමග ඉපදෙන අවිද්‍යාව. නාම ධර්ම සහ රූප ධර්මවලට වටිනාකමක් කාවදින්නෙ ඒවා සමග ගොඩ නැගෙන අවිද්‍යාව නිසා. ප්‍රඥාව පහල වෙනකොට දුරුවෙන්නෙ, ඒ ඒ ධර්ම කෙරෙහි ගොඩනැගෙන වටිනවා කියන අදහස හෙවත් අවිද්‍යාව.

විඤ්ඤාණත් විපාක විඤ්ඤාණ සහ සංඛාර ප්‍රත්‍යයෙන් ගොඩනැගෙන විඤ්ඤාණ කියල කොටස් 2 ක් තියෙනවා. විඤ්ඤාණ අවිද්‍යා සහගතව පහල වුනොත් තමයි නාම රූප අවිද්‍යා සහගත වෙන්නෙ. සංඛාර අවිද්‍යා සහගතව පහල වුනොත් තමයි විඤ්ඤාණ අවිද්‍යා සහගත වෙන්නෙ. අවිද්‍යා සහගත සංඛාරවලට කියන්නෙ අභිසංඛාර කියල. අවිද්‍යාවෙන් තොර විඤ්ඤාණ මතු දුකට හේතු වෙන්නෙ නෑ. ඒ නිසා විඤ්ඤාණ සමග ගොඩනැගෙන අවිද්‍යාවයි නිරෝධ කළ යුත්තෙ. අවිද්‍යා සහගතව විඤ්ඤාණ ගොඩනැගෙන්නෙ, අවිද්‍යා සහගත සංඛාර හෙවත් අභිසංඛාර නිසා. ඒ නිසා නිරෝධ කරන්න ඕන සිතිවිලි, ක්‍රියා වදන් නෙවෙයි, ඒවා සමග යෙදෙන අවිද්‍යාව.

සිතිවිලි, ක්‍රියා වදන් හෙවත් මනෝ සංඛාර, වචී සංඛාර, කාය සංඛාර රහතන් වහන්සේටත් තියෙනවා. උන්වහන්සේ නිරෝධ කළේ ඒ සමග යෙදෙන "අභි" (බිහි කරන) කියන කොටස නිසා රහතන් වහන්සේගේ සිතිවිලි, ක්‍රියා වදන් පුඤ්ඤාභි සංඛාර, අපුඤ්ඤාභි සංඛාර, ආනෙඤ්ඤාභි සංඛාර බවට පත් වෙන්නෙ නෑ. ඒවා මනෝ කර්ම, කාය කර්ම, වචී කර්ම විතරයි. ඒවා දුක කරා, සසර කරා මෙහෙයවන්න බලයක් නෑ.

දුක නොදැනීම, දුක්ඛ සමුදය නොදැනීම, දුක්ඛ නිරෝධය නොදැනීම, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව නොදැනීම කියන අවිද්‍යාව නිසා, පංචස්කන්ධය නිච්චයි, සුඛයි, අත්තයි, සුභයි කියන විපරීත දෘෂ්ටියක්, සංඥාවක්, චිත්තයක් පහල වෙනවා. එතකොට තමයි අවිද්‍යා ප්‍රත්‍යයෙන් අභිසංඛාර ගොඩනැගෙන්නෙ.

**යම් දවසක පංචස්කන්ධය අනිච්චයි, දුක්ඛයි, අනත්තයි, අසුභයි කියන ප්‍රකෘති ස්වභාවය, පළමුව දැනීමට ගෝචර වෙච්ච හෙවත් දහම් ඇස පහල වෙච්ච සෝතාපන්න පුද්ගලයාට පංචස්කන්ධය නිච්චයි කියන දෘෂ්ටියත්, සංඥාවත්, චිත්තයත් දුරු වෙනවා. පංචස්කන්ධය සුඛයි කියන දෘෂ්ටිය දුරු වෙනවා, සංඥාව හා චිත්තය ඉතිරි වෙනවා. පංචස්කන්ධය අත්තයි කියන දෘෂ්ටියත්, සංඥාවත්, චිත්තයත් දුරු වෙනවා. පංචස්කන්ධය සුභයි කියන දෘෂ්ටිය දුරු වෙනවා, සංඥාවත්, චිත්තයත් ඉතිරි වෙනවා.**

එතකොට **සෝතාපන්න පුද්ගලයාට ලෝකය පිළිබඳ සියලු දෘෂ්ටි දුරු වුනත් සුභයි, සුඛයි කියන කාරණා දෙක පිළිබඳව සංඥාව හා චිත්තය විපරීත ධර්ම විදිහට ඉතිරි වෙනවා.** විදර්ශනාව වැඩිල අවබෝධය ප්‍රගුණ වෙනකොට මේ ඉතිරි විපරීතයන් ක්‍රමයෙන් ගෙවිල ගිහින් අරිහත්වයේදී සියලු විපරීත හෙවත් විපල්ලාසයන් දුරු වෙනවා.

මේ විදිහට තේරුම් අරගෙන සිහි නුවණින් කටයුතු කරනකොට, විදසුන් වඩන කොට, අතීත මතකයන් තියුනු වෙමින්, ඒවායේ ඡන්ද රාගය දුරු වෙමින් පුබ්බේනිවාසානුස්සති ඥානයත් පහල වෙනවා. චුතුපපාත ඥානයත් පහල වෙනවා. ආසවක්ඛය ඥානය දියුණු වෙමින් ඉදිරියේදී පූර්ණ කරගන්න බලාපොරොත්තු වෙන පූර්ණ නිවන පිළිබඳවත්, වැඩිය යුතු සියලු මාර්ගාංග පිළිබඳවත් මනා සිහිය පිහිටනවා. තවදුරටත් ඉදිරියට යනකොට නිවන පූර්ණ වෙනවා.

කරන කටයුතු මුළාවෙන් තොරවීම නිසා තීක්ෂණ දැනීම් ඥානය පහල වෙනවා. මේ කිසි තැනක ඡන්ද රාගය නැති නිසා සියලු කායික මානසික නිදහස, නිරාමිස ප්‍රීතිය, පස්සද්ධිය හෙවත් සැහැල්ලුව, නිදහසින් ගොඩනැගෙන ඡන්ද රාගයෙන් තොර සුඛය නිසා සහ විසිරෙමින් අරමුණු පසුපස යන අවිද්‍යා සහගත ඡන්ද රාගය නැති නිසා ආර්ය ඒකාග්‍රතාවය මනසේ පිහිටනවා. අපහසුතාවයකින් තොරව ධ්‍යානත් ලැබෙනවා. සසර පුරුදු සහ පාරමිතා පුරල තියෙන ස්වභාවය අනුව මාර්ග ඵල පූර්ණයත්, ප්‍රඥා විමුක්ත අරිහත්වයත්, උභතෝ විමුක්ත අරිහත්වයත් ත්‍රිවිද්‍යාලාභී, අභිඥාලාභී සිවුපිළිසිඹියාපත් කියන ගුණාංගත් පහල වෙලා සසර සියලු දුක් කඳ කෙළවර වෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සෝතාපන්න වීම කෙසේ සිදුවේද?

ලොවිතුරා බුදුවරයන් වහන්සේලා සහ පසේ බුදුවරයාණන් වහන්සේලා හැර, යම් නැණවතෙක් තනියෙන් කොහොම කල්පනා කළත්, හට ගත් සියල්ල හේතු ඵල ධර්ම බවත්, හේතු නිරෝධයෙන් ඵල නිරෝධ වන බවත් වැටහිලා, එයින් මාර්ග ඵලවලට පත්වීමක් සිද්ධ වෙන්නෙ නෑ. බණ අහන මොහොතකම සෝතාපන්න මාර්ග ඵලය ලබන බව දහම් නියමයක් විදිහට බුදු දහමේ සඳහන් වෙනවා. සෝතාපන්න ඵලය පරතෝඝෝෂක ප්‍රත්‍යය (වෙනත් කෙනෙක් විසින් නගන හඬ අසා) මුල් කරගෙනම පහල වෙනවා.

අරූපාවචර ලෝකවල සෝතාපන්න අය පහල නොවන බවත්, මෙලොවදී බණ අහල සෝවාන් වෙච්ච අය අරූපාවචර දහැන් ලබල හිටිය නම්, මරණින් මතු අරූපාවචරයේ ඉපදිලා ඉතිරි මග ඵල එහිදී ලබන බවත් පෙළ දහම් පොත්වල සඳහන් වෙනවා.

තනියෙන් භාවනා කර කර ඉන්න සමහර අය, යම් යම් ගති ලක්ෂණවලට පත් වෙලා, ඒ මනෝ රූප ස්වභාවයන්ට මග ඵල කියල රැවටිලා "මම සෝතාපන්න වෙලා" කියල හිතනවා. සමහරවිට එබඳු හැඟීම් පහල කරන්න පුළුවන්. ඒ අය මේ කරුණු ගැන කල්පනා කරල බලන්න.

බුදු රජාණන් වහන්සේ සමහර ශ්‍රාවකයන්ට කර්මස්ථාන ලබා දුන්න තැන් ගැනත් ධර්මයේ සඳහන් වෙනවා. නමුත් කොච්චර දුරක ඉඳගෙන ඒ කර්මස්ථාන වැඩුවත්, මග ඵල ලබන්න මෝරල තියෙන මොහොත මහා බුද්ධ ඥානයටම ගෝචර වෙන දෙයක්. ඒ වගේ අවස්ථාවක උන්වහන්සේ මනෝමය ඍද්ධියෙන් හෝ පෙනී ඉඳල සාමුක්කංසික කියන දේශනාවක් කරනවා. මාර්ග ඵලයට පත්වෙන්නෙ ඒ මොහොතේ. විශේෂයෙන් පළමු මාර්ග ඵලය ලබපු අය කෙරෙහි උන්වහන්සේ ඒ තරම් උනන්දු නොවන බවත් සමහර තැන්වල දේශනා කරල තියෙනවා.

එහෙම කරන්නෙ ඇයි? මාර්ග ඵල පිළිබඳව නොයෙක් අදහස් මතු වන මේ කාලයේ මේ පිළිබඳව විමසීමක් කිරීම කාලෝචිතයි. දැන් මෙහෙම හිතල බලමු.

ලෝකයේ ගස්, වැල් කියල දෙවර්ගයක් තියෙනවා. ගස්වල ස්වභාවය තමයි තනියෙන් නැගී සිටීම. නමුත් වැල් වර්ගවල උපන් ස්වභාවය තමයි, යමක ආධාරයෙන්ම ගහක හෝ ආධාරකයක හෝ දවටිලා නැගී සිටීම. වැලක් වැටෙන්නෙ නැතිව දරා සිටින තත්ත්වයට පත්වෙන්න නම්, පහත් වෙච්ච ගහක අත්තක් හෝ තිබිල ඒකෙ වෙලෙන්න ඕන. එහෙම නැත්නම් රිටක්, ඉපලක් හෝ ආධාර කරගෙන ගහක වෙලෙන්න ඕන. ගහේ හොඳට වෙළුනට පස්සෙ ආධාරක රිට නැතත් ගහේ ශක්තියෙන් වැල වැටෙන්නෙ නැතිව දරා හිටිනවා. වැලත් වර්ධනය වෙනවා.

ඒ වගේම ලොව්තුරා බුදු රජාණන් වහන්සේ මහා වෘක්ෂයක්, මහා ගහක් වගේ. උන්වහන්සේගේ ශ්‍රාවකයන් වහන්සේලා ඒ ගහේ වෙලිල නැගී සිටින වැල් වගේ. ගහේ එතුන මහ වැලක එතිල කුඩා වැල්වලටත් ඒ ගහට නගින්න පුළුවන්.

"යමෙක් ධර්මය දකීද හේ මා දකී" මේ බුදු වදනක්. තථාගතයන් වහන්සේ අප්පටිම බවත් දේශනා කරල තියෙනවා. ඒ කියන්නෙ ප්‍රතිමාවකින් හදල පෙන්වන්න බෑ. ඒකත් බුද්ධ වචනයක්. කය බුදු රජුන් නොවන බවත්, ධර්මය තුලින් ගිහින් බුදුන් දකින්න පුළුවන් බවත් පෙන්වා තියෙනවා.

ධර්ම රත්නය පවතින කල් අප්පටිම වූ බුදු රජුන් නුවණින්, ප්‍රඥාවෙන් දකින්න පුළුවන්. ප්‍රත්‍යක්ෂයෙනුත් ඒ වගේම පූර්ණ ලෙස දකිනවා. බුදු **රජාණන් වහන්සේගේ ශ්‍රී දේහය ආදාහනය කරල ධාතූන් වහන්සේලා බවට පත් වුනත්, දහම තුලින් දැකපු අය ඉන්න කල් බුදුන් විද්‍යමානයි.** ඒ තමයි සත්‍යය. පරම වූ සත්‍යය දැක්කම ලොව්තුරා බුද්ධියේ මහිමය ඉතා හොඳින් පේන්න ගන්නවා. ඒ වැටහීම ඇතිවෙන්නෙ සිතක.

සිතක චෛතසික විද්‍යමාන වෙනකොට, විඤ්ඤාණ පච්චයා නාම රූපං කියන සිද්ධාන්තය යටතේ රූපාකාරය මෙනෙහි කළාද, අනුරූප ස්වභාවයත් රූපාකාරව පේනවා. දිවැස් තියෙන ශ්‍රාවකයන් වහන්සේලාට අවශ්‍ය නම් අතීතය මෙනෙහි කරල උන්වහන්සේගේ ශරීරය තිබ්බ්ච්ච ආකාරයත්, ඒ කාලයේ වැඩ හිටපු රහතන් වහන්සේලා සහ දේශනා කළ ධර්මයන් පවා මනසින් දැකගන්න පුළුවන්. නමුත් අප්පටිම වූ පරම සත්‍යයම, බුද්ධියම බුදුන් ලෙස වටහා ගත යුතුයි.

සෝතාපන්න වෙච්ච කෙනෙක් වැඩිම ප්‍රමාද වීමකින් ඉන්නව නම්, දෙව් මිනිස් දෙගතිය තුල භව 7 ක් සැරිසරන බව පෙන්වා තියෙනවා. යම් සෝතාපන්න කෙනෙක් මියගිහින් නැවත මිනිස්බවක උපදිනවද, අහස දිහා බලනකොට හිරු සඳු පේනව වගේ, තමන් ලබල තියෙන දහම්

මගත් ඵලයත් දකින බව පෙන්වා තියෙනවා. ඒ අයට ඒ අත්බැවේදි ඒ මාර්ග ඵල දකින්න පරප්‍රත්‍ය ලෙස දහම් ශ්‍රවණයක් අනවශ්‍යයි. "අවිජ්ජා පච්චයා සංඛාරා..." ආදී පාලි වචනවලින් ධර්ම වාක්‍ය තෝරන්න භාෂා අරුත් දැනගෙන හිටියෙ නැතත්, ඒවායෙ දහම් අදහස් කිසිසේත්ම ඒ අයගෙන් ගිලිහීමක් වෙන්නෙ නෑ. එබඳු ආර්ය පුද්ගලයන් මේ කාලයේ ලෝකයේ ජීවමාන වෙන්නෙ නෑ කියල කියන්න කිසිසේත් බෑ.

**දැනට අවුරුදු දහසකට පමණ පෙර ලක්දිව රහතන් වහන්සේලා වැඩ හිටිය නම්, ඒ කාලයේ සෝතාපන්න වෙච්ච අය කොච්චර නම් ඉන්න ඇත්ද? මේ අවුරුදු දහස තුළ භව 7 ක් ගෙවල නැති අය කොතෙකුත් ඉන්න පුළුවන්. මේ සෝතාපන්න ආදී මාර්ග ඵල හඳුන්වන සම්මත වචන තේරුම් නොගත්තත්, හැඟීම් වශයෙන් ඒ අයට තමන්ගෙ ගතිය වැටහෙන්න ගන්නවා.** ඒක සෝතාපන්නද, සකෘදාගාමීද කියල වෙන් කරල හොයාගන්න නම්, දහම් පොත්වල තියෙන කරුණු බලල ඒ අනුව හිතල තේරුම් ගන්න ඕන. මග ඵල ලබපු ආර්ය ශ්‍රාවකයා රෑ අහස බලනකොට තරු වෙනමත්, ඉර හඳ වෙනමත් දකිනව වගේ, මහත් වූ දහම් ඉවකින් මේවායේ ස්වභාවය දැක ගන්නවා. තරු සියල්ල හඳට යටත් වන ආලෝකයකින් යුක්ත වෙනව වගේම, පටිච්ච සමුප්පන්න දහම් මග සියලු දහම් අභිබවා සාරත්වය දෙන සත්‍ය දහම බව වටහා ගන්නවා.

සාමාන්‍ය හිතකට නම් මේ දහමේ ගැඹුර වැටහෙන්නෙ නෑ. නමුත් එබඳු ආර්ය දහම දැකපු උතුමන් බුදුන් නමැති මහා වෘක්ෂයේ වෙළුන වැල් වගේ. ඒ වැලක වෙලිල පොළොවෙ තියෙන තවත් වැලකට වැඩිල ගිහින් බුද්ධ වෘක්ෂයේ වෙලෙන්න පුළුවන්. ඒ කියන්නෙ ඒ ආර්ය උතුමන් ගිහි වේවා, පැවිදි වේවා, ඇසුරු කරල බණ අහන අන්‍යයන්ටත් මාර්ග ඵල ලබන්න පුළුවන්. ඒ උතුමන් නිහතමානී වෙනවා.

නමුත් උඩඟුකමකින් ඉඳගෙන බණ අහල හෝ සම මට්ටමින් හිතල සාකච්ඡා කරල හෝ මේ දහම් සාරයට, යථාවබෝධයට වාසනාව නගා ගන්න බෑ. **ආර්ය උතුමන් ගිහි වේවා, පැවිදි වේවා, දහම් ගරුත්වය තියල, ධර්මාසනයක වඩා හිඳවල, තමන් මිටි ආසනයක හෝ බිම හෝ එකත් පසෙක ඉඳගෙන බණ අහන්න ඕන.** නිහතමානීව දහම් ගරුත්වයෙන් ගරු බුහුමන් වන්දනාමාන පූජා සත්කාර කරල බණ අහනව නම්, හේතු වාසනා තියෙන අය ඒ අවස්ථාවෙදි පරතෝඝෝෂක ප්‍රත්‍යය ලබල නිවන් දකිනවා.

මේ විදිහට කරන ගරු බුහුමන් සහිත බණ ඇසීමක් ඔබ කරල තියෙ නම්, ඒ බණ අහන පැය බාගයකදිත්, යම් තැනක තනියෙන් භාවනා කරන පැය බාගයකදිත් ඇතිවන සිත සන්සුන් වීමේ වෙනස ඔබම හිතල බලන්න. තනියෙන් භාවනා කරනකොට අඩු තරමින් විනාඩි 5 ක්වත් හිත භාවනා අරමුණක ගෙනියන්න පුළුවන් වුනාද කියල හිතල බලන්න. ඒ වගේම දේශකයාණන් වහන්සේ නමක් තමන් වෙත අවධානය ඇතිව බණ දේශනා කරනව නම්, හිත වෙනත් අරමුණක දුවවන්න හැදුවත් එහෙම දුවයිද කියල හිතල බලන්න. පටිගත කරන ලද ධර්ම දේශනාවක් වුනත් අහගෙන හිටියට, තමන්ට තමන්ව අවනත කරන්න සමත් නැති බව වැටහේවි. පරතෝඝෝෂක ප්‍රත්‍යයේ වෙනස සහ වැදගත්කම ඔබටම අත්දකින්න පුළුවන්. ඊළඟට පොතක් අරගෙන තනියෙන්ම කියවල බලන්න. නමුත් ධර්මධර උතුමෙක් ඉදිරියේ ගෞරවයෙන් බණ අහනකොට වගේ නෙවෙයි, ඒ වෙලාවට සන්සුන් නොවී හිත බාහිරට දුවන ආකාරය ඔබටම අත්දකින්න පුළුවන්.

තනියෙන් උඩට යන්න හදන වැලටත්, කුඩා රිටි කැබැල්ලකින් උඩට යන්න හදන වැලටත් ගහ අල්ලන්න තියෙන දුර බලනකොට පේන්නෙ ලොකු වෙනස් දුරක්. රිටි කැබැල්ල කොච්චර උසද, දරන ශක්තිය කොච්චරද, වැලට යන්න පුළුවන් එච්චර දුරයි. රිට දුබල නම් රිටත් සමග වැල බිම වැටෙනවා. බිම දුවන වැලට ඒ තරම්වත් දුරක් දුවන්න බෑ. වැල තනියෙන් ඉහලට යනව නම් හෝ රිටෙන් උඩට යනව නම්, වැඩිම වුනොත් අඩියක් විතර ඉහලට නගියි. නැවත බිමට පහත් වෙනවා. කොච්චර වැල් එතුනත් වැල් සමූහය එකිනෙකටත් දරාගන්න බැරිව ඇදගෙන වැටෙනවා.

ගහේ පටන් වැලක් හෝ රැකුලක් තිබුන නම්, ඒකෙ එතිල වැලට ගහ කරා ගමන් කරල ගහේ වෙලෙන්න පුළුවන්. මෝරපු ඒ වැලේ එල්ලිලා තවත් වැල්වලටත් නිරායාසයෙන් ගහ වෙළාගන්න පුළුවන්. ඊට පස්සෙ ආධාරකය නැතත් වැල ගහේ එතිල තියෙන නිසා බිමට වැටෙන්නෙ නෑ. සාමාන්‍ය කල්‍යාණ පෘතජ්ජනයෙක් සමග එකතු වෙලා වඩන සාසන මාර්ගය ගහට දුර නැති රිටි කැබැල්ලේ එතුන වැල වගෙයි. ගහේ පටන් එතිල ඇවිත් මෝරපු වැල් නම් මාර්ග ඵල ලාභී සිවු පිරිස් වගේ. ඒ නිසා මාර්ග ඵල ලබපු, මාර්ගය දේශනා කරමින් මග පෙන්වන ආචාර්යවරයෙක් ලෝකයේ ඉන්නවද, ඒ ඇසුරු කරන බෞද්ධයන්ට මාර්ග ඵල ලාභය ලැබෙනවා. එතකල් අධිගම අන්තර්ධානයක් වෙන්නෙ නෑ. දැන් මේ ගැනත් හිතල බලන්න.

සාසන අන්තර්ධාන කතාවෙදි පළමුවෙන්ම අධිගම අන්තර්ධාන වෙනවා. **ක්‍රමයෙන් ආර්ය උතුමන් අඩු වෙලා ගිහින් අන්තිමට මනුස්ස ලෝකයේ ඉන්න අධිගමලාභී සෝතාපන්න පුද්ගලයාගේ චුත වීමෙන් පසු නැවත ඒ සාසනය තුළ අධිගමය ඇති නොවන බවත්, ඒ අධිගම අන්තර්ධානය බවත් ප්‍රකාශ කරල තියෙනවා.** නමුත් ත්‍රිපිටක පර්යාප්ති (ධර්ම, විනය) අන්තර්ධානය පසුව සිද්ධ වෙන බවත් පෙන්වා තියෙනවා. අන්තිම අධිගම ලාභියාගේ චුත වීමෙනුත් කාලයක් යනකල් පර්යාප්තිය පවතිනවා. ලෞකික අර්ථයන් මෙනෙහි කරනවා. නමුත් අධිගමලාභී සෝවාන් පුද්ගලයෙක් ඉදිරියේවත් දහම් ශ්‍රවණයක් සිද්ධ නොවන නිසා, ඉන්පසු ඒ සාසනය තුළ මගඵල ලාභීන් බිහි වෙන්නෙ නෑ.

යම් විදිහකට බිහි වෙන්න හේතු තිබුන නම්, "අන්තිම සෝතාපන්න පුද්ගලයාගේ චුත වීමෙන් අධිගම අන්තර්ධානය වේ" කියන දේශනාවට ගැලපෙන්නෙ නැතිව යනවා. මග ඵල ලබපු දෙවියෙක්ගෙන්, බ්‍රහ්මයෙක්ගෙන් බණ අහල හෝ නැවත සෝවාන් පුද්ගලයෙක් බිහි වෙයි කියල හිතනව නම්, එතකොට අන්තිම සෝතාපන්න පුද්ගලයාගේ චුත වීමෙන් අධිගම අන්තර්ධානය වේ කියන කතාව ගැලපෙන්නෙ නැතිව යනවා.

මොකද, විපස්සිස්ස නමත්ථු... ආදී වශයෙන් කෙරෙන සත් බුදු වන්දනාව ගැන විග්‍රහයෙදි, විපස්සි බුදුන් වහන්සේගේ පටන් ගෞතම බුදුන් වහන්සේ දක්වා බුදුවරු හත් දෙනෙක්ගෙන් බණ අහපු අනාගාමී බ්‍රහ්මයන් දැනට පංච සුද්ධාවාස බ්‍රහ්ම ලෝකවල ඉන්න බව කියවෙනවා. ඒ තරම් දිග ආයු කාලයක් ඒ අයට තියෙනවා. ඒ කියන්නෙ එක බුදුවරයන් වහන්සේ නමක් පහළ වෙලා පිරිනිවන්

පාල සාසන අන්තර්ධානයත් වෙලා ඊළඟ බුදුන් වහන්සේ පහළ වෙනකල් තියෙන අබුද්ධෝත්පාද කාලයෙත් පංච සුද්ධාවාස බඹ ලොව අනාගාමී බ්‍රහ්මයන් ඉන්නවා. එතකොට ඒ අයගෙන් බණ අහල මනුස්ස ලෝකයේ අයට මගඵල ලබන්න පුළුවන් කිව්වොත්, නැවත බුදුවරයන් වහන්සේ නමකගේ පහල වීමක් අවශ්‍ය නැති වෙනවා. නමුත් ඒක එහෙම වෙලා නෑ. පංච සුද්ධාවාස බ්‍රහ්ම ලෝකවල අනාගාමී බ්‍රහ්මයන් ඉඳෙත්දීත් මනුස්ස ලෝකයේ බුදුවරයන් වහන්සේලා පහල වෙනවා. ඒ නිසා නැවතත් බුදුවරයන් වහන්සේ නමක් පහල වෙලාමයි මනුස්ස ලෝකයේ සාසනය පිහිටුවන්නෙ.

ඒ නිසා මනුස්සයෙක් ආර්ය පුද්ගල මනුස්සයෙක්ගෙන්ම බණ අහල මග ඵල ලැබිය යුතු බව හිතන්න පුළුවන්. කල්පනා කරල බලල හරි මග පිහිටන්න. බණ අහලම සෝතාපන්නයෙක් වෙලා ඉතිරි මග ඵල ලබන්න උත්සාහ කරන්න. එතකොට බුදු සසුන බැබලෙනවා.

"සාසනට්ඨිතියා පන පරියත්ති පමානං පණ්ඩිතෝ මේ තේ පිටකං හුත්වා දේවපි පූරේති" මේ අටුවා මතයක්. සාසනයේ පැවැත්මට පර්යාප්තිය ප්‍රමාණවත්, පණ්ඩිතයෝ මේ ත්‍රිපිටකය ඉගෙන ගෙන ප්‍රතිපත්තියත් ප්‍රතිවේධයත් ලබයි කියන්නෙ ඒකෙ සිංහල අරුත. නමුත් බුද්ධ වචනය **නම්, මේ සාසනය සම්පූර්ණයෙන්ම පවතින්නෙ කල්‍යාණ මිත්‍රයා නිසා. ඒ කියන්නෙ ආර්ය මාර්ග ඵල ලාභියා ඉන්න කල්.**

මාර්ග ඵල ලාභියා තමන් ලබපු ඵලය සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරිහත්... කියල වචන වශයෙන් කියන්න සමත් වෙනවද? මේ කරුණු ගැන හිතන්න.

මහානාම ශාක්‍ය කුමාරයා කුඩා කාලයේ වසර හතෙන් සෝතාපන්න වෙච්ච කෙනෙක්. දවසක් ඒ කුමාරයා බුදුන් වහන්සේ ළඟට ගිහින්, සෝතාපන්න පුද්ගලයා කෙබඳුද, සීලය කෙසේද, ගති ලක්ෂණ මොනවද කියල ප්‍රශ්න කරල තියෙනවා. මේ අනුව තමන් ඵලය ලබල හිටියත් ඒක දැනගෙන හිටපු බවක් පේන්න නෑ.

එක අවස්ථාවක ආනන්ද හාමුදුරුවන් චාරිකා වඩින මොහොතක, එක්තරා මෙහෙණින් වහන්සේ නමක් මෙහෙම අහනවා. "ඇවැත්නි, පෙනීම ඇත. බැලීමට හිතක් නැත. ඇසීම ඇත. අහන හිතක් නැත. ගන්ධය දැනීම ඇත. ආඝ්‍රාණයට හිතක් නැත. රස දැනීම ඇත. රස විඳින හිතක් නැත. ස්පර්ශ දැනීම ඇත. ස්පර්ශ ලබන හිතක් නැත. හිතට දැනීම ඇත. දැනගන්න හිතක් නැත. මේ කෙබඳු සමාධියක් දැයි දන්නෙහිද?"

එතකොට ආනන්ද හාමුදුරුවො මොකවත් දේශනා කරන්නෙ නැතිව බුදු රජාණන් වහන්සේ හමුවෙලා මේ පිළිබඳව විස්තර ප්‍රකාශ කළා. බුදුන් වහන්සේ මේ රහත් ඵලයේ ස්වභාවයයි කියල දේශනා කළා. මේ බව පෙළ දහම් පොතක සඳහන් වෙනවා.

මේ විස්තරවලින් පේන්නෙ, **ඵලය තියෙන කොට ස්වභාවය වැටහෙන නමුත්, දහම් විනිශ්චයකින් තොරව සෝතාපන්නද, සකෘදගාමීද... ආදී වශයෙන් වචනවලින් නිගමනය කරන්න බැරි බව. නමුත් යම් තණ්හා උපාදාන කරන කොටසක අත්හැරුන බව, නොඇලෙන බව, මිදුන බව ඒ ඒ අවස්ථාවලදී දැනෙනවා. ප්‍රත්‍යවේක්ෂා ඥාන තියෙනව නම්, ඒ මෙබඳු ඵලයයි කියල දැනගන්නවා. හැබැයි සියල්ලන්ටම ප්‍රත්‍යවේක්ෂා ඥාන පිහිටන්නෙ නෑ.**

අද ලෝක ධර්මයන් පිළිබඳව කුමන හෝ කොටසක් කෙරෙහි සත්‍යාවබෝධයෙන් නිසරුව දැකල අත්හැරුන, නොඇලුන, මිදුන බව දැනගත්ත, නැවත තමන් වෙත කොච්චර ගොඩ ගැහුවත් ඒ පිළිබඳව ආකාරයක, ලිංගයක, නිමිත්තක, උද්දේසයක, ප්‍රඥප්තියක නොඇලෙන ස්වභාවය ඇති, ඒ නිසාම ලැබුනත් නැතත් ඒ ගැන කිසිම බලාපොරොත්තු මාත්‍රයක් නැති, ඒ නිසා ඇලීම්, බැඳීම්, විඳීම්, දැනගැනීම් මාත්‍රයක්වත් අල්ල ගන්නෙ නැතිව නිදහස් වෙච්ච ස්වභාවය තියෙන අය ඉන්නව නම්, ඒ මාර්ග ඵලයකට සම්බන්ධ වෙච්ච අනුලෝම ඥානය හෝ වෙන්වීමේ ශාන්තියේ පිහිටියා නම්, මාර්ග ඵලයක් හෝ ලබල තියෙන කෙනෙක් බව දැනගන්න ඕන. නමුත් ප්‍රත්‍යවේක්ෂා ඥාන නැත්නම් ඒක ප්‍රකාශ කරන්නත් දුෂ්කරයි.

අනික් කාරණය තමයි, ඒ තත්ත්වයේ ගැඹුරු වැටහීම් ස්වභාවය තියෙනකොට, අන්‍ය සියලු පෘතජ්ජන ලෝකයාට කියල දීල වැටහීමක් ලබාදෙන්න බැරි බවත් ඒ ආර්ය පුද්ගලයන්ට වැටහෙනවා. වටහල දෙන්න පුළුවන් බොහොම සුළු පිරිසකටයි. ළදරු පන්තියටවත් නොගිය අවුරුදු 2 ක විතර ළමයෙකුට, බුද්ධිවන්ත ගුරුවරයෙක් තමන් යම් විෂයක් පිළිබඳව විශේෂඥයෙක් කියල කිසිම අවස්ථාවක කියන්නෙ නෑ. එහෙම නොකියන්නෙ, දරුවට ඒ බව වටහාගන්න බැරි බව ගුරුවරයා දන්න නිසා. එබඳු දරුවන්ට තමන් එබඳු විශේෂඥයෙක් කියල හඟවන්න හෝ ඒ දරුවන්ගෙන් ප්‍රසංසාවක් ලබන්න හෝ අදහසක් ඒ ගුරුවරයාට ඇතිවෙන්නෙ නෑ.

මාර්ග ඵල ලාභීන්ගේ තත්ත්වයත් මේ විදිහමයි. නමුත් දරුවා යහ මගට ගන්න අවශ්‍ය නිසි ක්‍රියා මාර්ග තමන්ගෙ දක්ෂතාවය අනුව ගන්න කිසිදු පැකිලීමක් නැතිව ඉදිරිපත් වෙලා ඒ සඳහා කටයුතුත් කරනවා. ගුරුවරයෙක් තමන්ගෙ දක්ෂතාවය පෙන්වන්න සුදුසු අවස්ථාවක් යෙදුනොත් ඒ විදිහට ක්‍රියා කරන්න පුළුවන්. ඒ වගේ මගඵල ලාභීනුත් එබඳු සුදුසු අවස්ථාවල අනුන්ට යහපතක් වෙන බව පේනව නම්, ඒ බව දැන ගැනීමෙන් කෙනෙකුට යහපතක් වෙනව නම්, ඒකත් තේරුම් අරගෙන ප්‍රකාශ කරන්න පුළුවන්.

මේ උපමාවත් බලන්න. කිසිම දවසක ලුණු රස දැනගත්තෙ නැති කෙනෙක්, තමන් වෙත ඇවිත් ලුණු රස මොන වගේද කියල ඇහුවොත්, කොහොම පිළිතුරු දෙයිද? මේක මම දන්නව කියල ඔහුට ලුණු රස අවබෝධ කරල දෙන්න පුළුවන්ද කියල හිතල බලන්න. රසය වටහා දෙන්න නම්, ඔහුට රස විඳල බලාගන්න ලුණු කැටයක් දෙනව මිසක් වෙන කරන්න පුළුවන් දෙයක් නෑ.

ලෝක සත්ත්වයාටත් ලෝකාස්වාදයේ ඇලීම සැප විදිහටම පේනව මිසක් දුක් විදිහට වැටහෙන්නෙ නෑ. අත්හැරීම දාහයක්, දුකක් විදිහටම දැනෙනව මිසක්, සංසිඳීම සුවයක් විදිහට වැටහෙන්නෙ නෑ. සංසිඳීම් සුවය ගැන කිව්වට තේරුම් ගන්නත් බෑ. ඒ සඳහා කළ යුත්තේ අනිච්ච බව, දුක්ඛ බව, අනත්ත බව වටහා ගන්න පුළුවන් කියල පේනව නම්, ඒ සඳහා කරුණු පෙන්වල මෙනෙහි කරන්න කියා දීම. ඒ විදිහට මෙනෙහි කරනකොට සත්‍යාවබෝධයට හේතු තියේ නම්, ලෝකයේ නිසරුව දැකල, අත්හැරල නොඇලී, මිදීමෙන් සංසිඳීම් සුවය අත්දැකල නිවන් සුවය වටහා ගන්න පුළුවන්.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

11 වන කොටස



## සංයුක්ත නිකාය - 2

### පච්චය (පච්චයුප්පන්න) සූත්‍රය - 40 පිටුව

මෙහි පටිච්ච සමුප්පාදය සහ ප්‍රත්‍යයෙන් උපන් ඉදප්පච්චයතාවයද, පටිච්ච සමුප්පාද ධර්මද දේශනා කර ඇත.

තවද "පටිච්ච සමුප්පන්න" යන වචනය සහ "පටිච්ච සමුප්පාද" යන වචනය මෙහිදී සියුම් ලෙස අර්ථ විග්‍රහ කරගත යුතුව ඇත. සූත්‍රයේ මාතෘකාව සඳහා පටිච්ච සමුප්පන්න හෝ පටිච්ච සමුප්පාද සූත්‍රයයි නොතබා, පච්චයුප්පන්න සූත්‍රයයි කියා නම් තැබුවේ ඇයි දැයි කල්පනා කිරීම වැදගත්ය. මෙය නිධාන වර්ගයට අයිති බැවින් මූලික වූ කරුණු විශේෂයෙන් වෙන් කර පෙන්වා ඇති නිසා, සූත්‍රයක හෝ සූත්‍ර නාමයක මූලික හේතුව විග්‍රහ කර පෙන්වා ඇති බව විශේෂයෙන් සිතිය යුතුව ඇත. "නාමංච රූපංච පටිච්ච ඵස්සෝ - ඉච්ඡා නිදානානි පරිග්ගහානී" යන තැන ඉච්ඡා යන වචනය මූල නිධානය වී ඇති බව පෙන්වීම සඳහා "අවිජ්ජා පච්චයා සංඛාරා" යන කොටසට පමණක් ඉච්ඡා නිධානව හට ගන්නා හැටි පෙන්වා තියෙන බව මුලින් තිබූ සූත්‍ර ක්‍රමය අනුව වටහා ගත හැකිය.

### දසබල සූත්‍රය - 44 පිටුව

දස බල ඇති සිවු විශාරද වූ බුදු රජුන් පිරිස් මැද සීහ නාද කරයි. බ්‍රහ්ම චක්‍රය පවත්වයි. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණයන්ගේ ස්වභාවයත්, ඒවායේ හට ගැනීමත්, නිරෝධයත් දේශනා කරයි. මෙය ඇති කල්හි මෙය වේ, මෙය උපන් කල්හි මෙය උපදී, මෙය නැති කල්හි මෙය නොවේ, මෙය නිරෝධ කල්හි මෙය නිරුද්ධ වේ යන පටිච්ච සමුප්පාද සහ නිරෝධ ධර්ම පිළිබඳව සීහ නාද කරයි. දම්සක් පවත්වයි.

### දෙවැනි දස බල සූත්‍රය - 44 පිටුව

පළමු වන සූත්‍රයේ මෙන් විග්‍රහ කර භික්ෂූන් වහන්සේලාට උත්සාහය වීර්ය දැඩි කරවා මගඵල ලැබීමට උනන්දු කරවන විග්‍රහයක් ඇත.

### උපනිස සූත්‍රය - 46 පිටුව

ස්කන්ධ පහත්, ඒවායේ හට ගැන්මත්, නිරෝධයත් දන ආශ්‍රව ක්ෂය ඥානය පහළ කර, ප්‍රත්‍යවේක්ෂා ඥානයේ පටන් එතෙක් ආ සියලු මග ප්‍රත්‍ය සහිත බව පෙන්වා උපනිශ්‍ර ප්‍රත්‍යය යෙදෙන අයුරු පෙන්වා ඇත.

"අවිජ්ජා උපනිසා සංඛාරා" යන තැන් පටන් එකිනෙක උපනිශ්‍රය වෙමින් විඤ්ඤාණ, නාම රූප, සළායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති, දුක්ඛ, සද්ධා, පාමොජ්ජ හෙවත් ප්‍රමුදිත බව, ප්‍රීති, පස්සද්ධි, සුඛ, සමාධි, යථාභූත ඥාන දස්සනය, නිබ්බිදා, විරාග, විමුක්ති, ක්ෂයේ ඥාන මෙසේ එකිනෙකට උපනිශ්‍රය ප්‍රත්‍ය වේ.

### අඤ්ඤතිත්ථිය සූත්‍රය - 52 පිටුව

සාරිපුත්ත ස්ථවිරයන් වහන්සේ දිනක් අන්‍ය පරිබ්‍රාජකාරාමයකට වැඩිය අවස්ථාවක ඔවුන් ඇසූ ප්‍රශ්නයකි. එනම්, දුක තමා විසින් හෝ අනුන් විසින් හෝ කරන ලද්දේද, ඉබේ හට ගන්නා ලද්දේද යන ප්‍රශ්නයයි. ඒ කිසිවක් අනුමත නොකළ සැරියුත් හිමියන්, දුක ස්පර්ශයෙන් හට ගන්නේ යැයි හේතු සහිතව පෙන්වීය. ආනන්ද හිමියන් මේ දේශනාව අසා බුදු පියාණන් වහන්සේට ප්‍රකාශ කළ විට, බුදු රජුන් සැරියුත් හිමිට ප්‍රසංසා කර අනුමත කර ඇත.

### භූමිජ සූත්‍රය - 58 පිටුව

සැරියුත් හිමියන් හමුවූ භූමිජ ස්ථවිරයන් වහන්සේ මේ පැනය ඇසීය. සැප, දුක පිළිබඳව අන්‍ය තීර්ථකයන් ඉහත අඤ්ඤතිත්ථිය සූත්‍රයේ පරිදි අසන ලද බව පෙන්වා, බුදු පියාණන් වහන්සේ කෙසේ දේශනා කර ඇත් දැයි ඇසීය. ඉහත සූත්‍රයේ දුන් පිළිතුරම දී ඇත. ආනන්ද හිමියන් එම දේශනාව බුදු රජුන් සමග කී විට, බුදු රජුන් විස්තර දේශනාවක්ද ආනන්ද හිමියන්ට කර ඇත.

තමා පිළිබඳව කීවත්, අනුන් පිළිබඳව කීවත්, සැප දුක් වේදනා ස්පර්ශ ප්‍රත්‍යයෙනි. කාය, වාග්, මනෝ යන තුන් තැන්හි සැප දුක් වේදනා උපදින ස්පර්ශයෝ ඒ ඒ කාය, වාග්, මනෝ සංඛාර රැස් කිරීමෙන් වේ. මේ සංඛාර අවිද්‍යා සහගතය. අවිද්‍යා ප්‍රත්‍යයෙන් ගොඩනැගේ. අවිද්‍යා වේ අසේස විරාග නිරෝධයෙන් තමා පිළිබඳව සුව දුක් විඳීද ඒ ක්‍රියාය, ඒ වචනය, ඒ හිත නොවේ. යම් ප්‍රත්‍යයකින් සුව දුක් උපදීද, ඒ හිත නොවේ, ඒ වස්තුව නොවේ, ඒ ආයතනය නොවේ, ඒ අධිකරණය නොවේ. එනම්, අවිද්‍යාව ඉතිරි නොකර සහමුලින්ම නිරෝධ කිරීමෙන් මේ සුව දුක් කියල ගන්න හිතක් එන්නෙ නෑ, ඒවා වස්තු කරගන්නෙ නෑ, ආයතන කරගන්නෙ නෑ, ඒවා වැදගත් කාරණා නෙවෙයි.

## පච්චය සූත්‍රය - 66 පිටුව

පටිච්ච සමුප්පාදය අග පටන් මුලට හෙවත් ජරා මරණ පටන් අවිජ්ජා දක්වා විස්තර කර ඇත. මෙහි ජරා සහ මරණ විග්‍රහය අනුව උපනිශ්‍රය ප්‍රත්‍යයෙන් ප්‍රත්‍ය වන ස්කන්ධයන්ගෙන් හෙවත් සමූහයන්ගෙන් ගොඩනැංවෙන පටිච්ච සමුප්පාදය බව පෙනේ.

ආර්ය ශ්‍රාවක මෙසේ ප්‍රත්‍යය දනීද, ප්‍රත්‍ය සමුදය, ප්‍රත්‍ය නිරෝධය, ප්‍රත්‍ය නිරෝධ ප්‍රතිපදාව දනීද, ඒ ආර්ය ශ්‍රාවක මාර්ග දෘෂ්ටියෙන් යුක්තයි හෙවත් දෘෂ්ටි සම්පන්නයි. දර්ශන සම්පන්නයි. මේ සදහමට පැමිණියේය. මේ සදහම දකී. ශෛක්‍ය (සේඛ) ඥානයෙන් සමන්නාගතය. ධර්ම සෝතයට පැමිණියේය. ආර්ය වූ නිර්වේදික ප්‍රඥා ඇත්තේය. නිවන් දොරට ඇනී සිටියේ යයිද කියනු ලැබේ. (ඒකාන්තයෙන් සෝතාපන්න කෙනෙක් බව මේ අනුව පෙනේ.)

## භූත සූත්‍රය - 74 පිටුව

පරායන වර්ගයෙහි අජිත ප්‍රශ්නයෙහි දෙසූ පරිදි, මේ සසුනෙහි දන්නා දක්නා යම් රහත්හු සහ සේඛයන්ගේ පිළිවෙත වදාරනු මැනවැයි කළ ප්‍රශ්නය. සැකෙවින් කරන ලද අරුත විස්තර සහිතව කෙසේ වේදැයි සැරියුත් හිමියන්ගෙන් විචාරන ලදී. මේ සූත්‍රයෙන් සැරියුත් හිමියන්ගේ දේශනා ඥානය පුබුදුවාලූ අයුරු පෙන්වයි. තෙවතාවක් ඇසූ පසුද නිහඬ වූ සැරියුත් හිමිට මුල ආධාරක මග බුදු පියාණන් වහන්සේ දෙසීය. සාරිපුත්ත මේ භූතය දක්හිද? වහන්ස, මේ ස්කන්ධ පංචකයයි තතු සේ දකී. දැක ඒ පිළිබඳව නොබැඳීම පිණිස නොඇලීම පිණිස නිරෝධය පිණිස පිළිපන්නේ වෙයි.

ඒ ස්කන්ධ පංචකය ආහාරයෙන් හට ගත්තේ යැයි තතු සේ දකී... නිරෝධය පිණිස පිළිපන්නේ වෙයි. ආහාර නිරෝධයෙන්, යමක් හට ගත්තේද එය නිරෝධ වේ යැයි තතු සේ දකී... නිරෝධය පිණිස පිළිපන්නේ වෙයි. මේ සේඛයා පිළිවෙතයි.

ඉහත කී ලෙසම විග්‍රහ කර තතු සේ දැක උපාදානයන්ගෙන් මිදුනේ වේද ඒ අරිහත්වයයි. බුදු රජුන් ප්‍රසංසා කර අනුමත කළේය. මේ මොහොතේ සැරියුත් හිමියන්ට ශ්‍රාවක පාරමී දේශනා ඥානය පිබිදින.

## කාලාර සූත්‍රය - 78 පිටුව

කාලාර ඛත්තිය භික්ෂුව, සැරියුත් හිමියන් වෙත ඇවිත් මෙසේ කීය. ඇවැත්නි, මෝලිය ඵග්ගුන මහණ සික්ෂාව හැර ගිහි බවට පත් විය. සාසන පිහිට නොලදී. එහෙත් සාරිපුත්ත හිමි මේ ධර්ම විනයෙහි අස්සාසප්ප්‍රාප්ත විය. ඇවැත්නි මම කංඛා නොකරමි. ඇවැත්නි මතු පිළිසිඳීම කෙසේද? ඇවැත්නි මම විචිකිච්ඡා නොකරමියි සැරියුත් හිමි කීය. කාලාර ඛත්තිය මහණ බුදු රජුන්ට සැරියුත් හිමි අරිහත් ඵලය ලැබූ බව මෙසේ කීය. "ජාතිය ක්ෂය විය. බඹසර වැස නිම කරන ලදී. කටයුතු කරන ලදී. අරිහත්වය පිණිස කළ යුතු අනෙකක් නැතැයි" ප්‍රකාශ කළ බව කීය. සැරියුත් හිමියන් ගෙන්වූ බුදු රජුන් එසේ කීවේදැයි ඇසූ විට, ස්වාමීනි මේ පදවලින් මේ ව්‍යංජනවලින් නොකීමියි කීය. කියපු ආකාරය ඇසූ විට, ජාතිය යමක් නිධාන කොට ඇත්ද, ඒ නිධානය ගෙවී යාමෙන් ක්ෂය වීමෙන් ඒ බව දැන ප්‍රකාශ කළ අයුරු විස්තර කර ඇත.

## චේතනා සූත්‍රය - 102 පිටුව

යමෙක් සිතයිද, කල්පනා කෙරේද, පවත්වයිද, විඤ්ඤාණයට අරමුණු වේ. නොසිතාද, කල්පනා නොකෙරේද, එහෙත් අනුසයනය (අනුව සයනය හෙවත් අනුශය) කෙරේද, විඤ්ඤාණයේ පැවැත්ම වැඩීම වේ. එවිට පටිච්ච සමුප්පාද උදා වේ. නොසිතාද, කල්පනා නොකෙරේද, අනුසයනය නොකෙරේද, විඤ්ඤාණය නොපිහිටියේත් නොවැඩුනේත් වේ. එවිට පටිච්ච සමුප්පාද නිරෝධය වේ.

## ලෝක සූත්‍රය - 114 පිටුව

"දුක්ඛ" යන්නට "ලෝක" යන්න යොදා ඇත. දුක යනු ලෝකයට කියන නමකි. ලෝකය දුකෙහි පිහිටා ඇත.

## අඤ්ඤතර බ්‍රාහ්මණ සූත්‍රය - 116 පිටුව

හෙතෙමේ කෙරෙයි, හෙතෙමේ විඳියි යනු එක් අන්තයකි. අනිකෙක් කෙරෙයි, අනිකෙක් විඳියි යනු දෙවැනි අන්තයයි. මේ අන්ත දෙක හැර මැදුම් පිළිවෙතින් හෙවත් අවිජ්ජා පච්චයා සංඛාරා යන චක්‍රයේ දුක හට ගැනීමත්, අවිජ්ජා යත්වේව අසේස විරාග නිරෝධා ක්‍රමයෙන් දුක නිරෝධ කිරීමත් පෙන්වයි.

## ජානුස්සෝනි සූත්‍රය - 118 පිටුව

සියල්ල ඇත්තේය යනු පළමු අන්තයයි. සියල්ල නැත්තේය යනු දෙවැනි අන්තයයි. මේ දෙකට නොබැස අවිජ්ජා පච්චයා සංඛාරා අවිජ්ජා නිරෝධා සංඛාර නිරෝධෝ යන චක්‍ර 2 ට අනුව මැදුම් පිළිවෙතින් දහම් දෙසන බව පෙන්වා ඇත.

## ලෝකායතික සූත්‍රය - 118 පිටුව

සියල්ල ඇත්තේය යනු පළමු ලෝකායතයයි (විතණ්ඩ වාදයේ පුහුණු), සියල්ල නැත්තේය යනු දෙවැනි ලෝකායතයයි. සියල්ල ඒක ස්වභාව ඇත යනු තුන්වන ලෝකායතයයි. සියල්ල නානා ස්වභාව ඇත යනු හතර වන ලෝකායතයයි. ඒ මේ අන්ත 2 ට නොපැමිණ අවිජ්ජා පච්චයා... අවිජ්ජා නිරෝධා... ක්‍රමයට දහම් දෙසයි.

## පඨම අරිය ශ්‍රාවක සූත්‍රය - 120 පිටුව

අරිය ශ්‍රාවක හට කුමක් ඇති කල්හි කුමක් වේද, කුමක් උපන් කල්හි කුමක් උපදී දැයි සැකයක් නොවේ. අවිජ්ජා ඇති කල්හි සංඛාරයෝ වෙති. අවිජ්ජා නැති කල්හි සංඛාරයෝ නොවෙති.

මෙහි සැඟවුනු අර්ථ කොටසක් ඇති බව පෙනේ. එනම් ඇති විට වේ, උපන් කල්හි උපදී යනු වචනාර්ථ පටිච්ච සමුප්පාදය සහ පටිච්ච සමුප්පාද ධර්ම යන දෙක හා ගැලපීම විය හැකි බව පෙනේ. ඇති විට වේ යනු ධර්ම නියාමතාවයයි. උපන් කල්හි උපදී යනු ධර්මයන්ගේ ක්‍රියාකාරීත්වයයි. මෙය විමර්ශනය කළ යුතු කරුණකි.

ඉහත කී ක්‍රමවේදය දකින ශ්‍රාවක දිට්ඨි සම්පන්නයි. අමා දොරෙහි හැපී සිටී. (සෝතාපන්නයි)

## පරිවිමංසන සූත්‍රය - 126 පිටුව

භික්ෂුව විවිධාකාර වූ ජරා, මරණවලට කුමක් නිධානය කොට, ජාති කොට, කුමක් සමුදය කොට, ප්‍රභව කොට ඇත්දැයි විමර්ශනය කරයි. ජාති නිධාන කොට, සමුදය කොට, ප්‍රභවය කොට ඇතැයි දැන ඒ අනුව පිළිපදී. මේ ක්‍රමයට ජාති, භව, උපාදාන... ආදී පටිච්ච සමුප්පන්න අංග සියල්ල විමර්ශනය කරයි. ඒ අනුව පිළිපදී. ඒ මහණ හැම අයුරින්ම භව නිරෝධයට, දුක්ඛක්ෂයට පිළිපන්නේ යැයි කියනු ලැබේ.

අවිද්‍යා සහගත පුද්ගලයා කුසල සංඛාර රැස් කෙරේ නම් විඤ්ඤාණය කුසල වේ. අකුසල නම් අකුසල වේ. ආනෙඤ්ඤාභි නම් ආනෙඤ්ඤාභි වේ. විද්‍යාව උපන් කල්හි මේවා නොම රැස් කරයි. යම් වේදනාවන් විඳී නම් නොබැසගෙන අභිනන්දනය නොකර විඳී. කය හිමි කොට නම් (පංචද්වාරික), දිවි හිමි කොට නම් (මනෝද්වාරික) ඒ ආකාරයෙන් වේදනාව දැන විඳී. කය බිඳී දිවි කෙළවර වෙන්න පෙර සියලු වේදනා සිසිල් වන්නා වූ ධාතු ශරීරයෝ ශේෂ වෙතැයි දැන ගනී. කුඹලෙක් කුඹල් උඳුනෙන් යම් වළඳක් ගෙන බිම තැබූ විට එහිම සිසිල් වන්නා සේ යැයි දැන ගනී.

## නගර සූත්‍රය - 162 පිටුව

බුදු වීමට පෙර බෝසතාණන් වහන්සේ පටිච්ච සමුප්පාදය සහ නිරෝධය යෝනිසෝ මනසිකාරයෙන්ද, ප්‍රඥාභිසමයෙන්ද අවබෝධ කළ ක්‍රමය න්‍යායද සමග අවබෝධ කළ අයුරු පෙන්වා, පැරණි නටඹුන් වූ කැලෑ වැසුනු නගරයක් දැක ප්‍රතිසංස්කරණය කළා සේ යැයි උපමා පෙන්වා කළ දේශනාව මෙහි ඇත. නිධාන වර්ගයේ සූත්‍රයක් නිසා මූල නිධානයද පෙන්වා ඇති බව පෙනේ. පටිච්ච සමුප්පාදය සහ පටිච්ච සමුප්පාද ධර්ම යනු ක්‍රම 2 ක් බවද පෙන්වා ඇත.

මේ නගර සූත්‍රයේ මුලින්ම දක ඇති කරුණු අනුව, "නාම රූප පච්චයා විඤ්ඤාණං - විඤ්ඤාණ පච්චයා නාම රූපං" යන්නෙන් ඔබ්බට බැලිය හැකි කොටස දක ඇති බව පෙන්වීමට නගර උපමාව පෙන්වා පැරණි බුදුවරු සත්‍යාවබෝධය ලැබූ මග වටහා ගත් අයුරු පෙන්වා ඇත.

## උපයන්ති සූත්‍රය - 186 පිටුව

මහ මුහුද ගලන්නේ මහ ගංගා පුරවයි. මහ ගංගා පුරවන්නේ කුඩා ගංගා පුරවයි. කුඩා ගංගා පුරවන්නේ මහ හෙප් (විල්) පුරවයි. මහ හෙප් පුරවන්නේ කුඩා හෙප් පුරවයි.

එසේම අවිජ්ජා උපයන්නේ සංඛාර උපයයි, සංඛාර උපයන්නේ විඤ්ඤාණ උපයයි... මෙසේ විස්තර කළ යුතුය. එසේම මහ මුහුද බැස යන්නේ මහ ගංගා බැස යයි. මහ ගංගා බැස යන්නේ කුඩා ගංගා බැස යයි. කුඩා ගංගා බැස යන්නේ මහ හෙප් බැස යයි. මහ හෙප් බැස යන්නේ කුඩා හෙප් බැස යයි. මෙසේ අවිජ්ජා බැස යන්නේ (පහව යන්නේ) සංඛාර බැස යයි... (පහ වෙයි) මෙසේ විස්තර කළ යුතුය.

## ඵස්ස නානත්ථ සූත්‍රය - 222 පිටුව

චක්ඛු ධාතු, සෝත ධාතු... ආදී ෂඩ් ධාතු නිසා චක්ඛු සම්ඵස්ස ආදී ඵස්ස නානත්වය උපදී.

## නෝ ඵස්ස නානත්ථ සූත්‍රය - 222 පිටුව

චක්ඛු ධාතු ආදී ධාතු නානත්වයෙන් චක්ඛු සම්ඵස්ස ආදී ස්පර්ශ නානත්වය උපදී. චක්ඛු සම්ඵස්ස ආදී සම්ඵස්ස (සංස්පර්ශ) නානත්වය නිසා චක්ඛු ධාතු ආදී නානත්වය නූපදී.

## වේදනා නානත්ථ / නෝ වේදනා නානත්ථ සූත්‍රය - 224 පිටුව

චක්ඛු ධාතු ආදී ධාතු නානත්වය නිසා චක්ඛු සම්ඵස්ස ආදී ස්පර්ශ නානත්වය උපදී. ඒ නිසා චක්ඛු සංඵස්සජා වේදනා ආදී වේදනා නානත්වය උපදී. වේදනා නානත්වයෙන් ස්පර්ශ නානත්වය නූපදී. ස්පර්ශ නානත්වයෙන් ධාතු නානත්වය නූපදී.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# තමන්ට ඇති සියලු වින දොස් බන්ධන, වස විස දුරු කරගැනීම සඳහා වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලබා දුන් වටිනා කමටහනක්...

සප්ත සූරිය ආලෝකයෙන්
රාග දෝස මෝහ මූලික
සියලු වින හිර බන්ධන
සුනු විසුනු කරමී
සුනු විසුනු කරමී
සුනු විසුනු කරමී
සුනු විසුනු වෙත්වා
සුනු විසුනු වෙත්වා
සුනු විසුනු වෙත්වා
බස්ම කරමී
බස්ම කරමී
බස්ම කරමී
බස්ම වෙත්වා
බස්ම වෙත්වා
බස්ම වෙත්වා

සප්ත සූරිය ශක්ති බලයෙන්
සියලු වින හිර බන්ධන
සුනු විසුනු කරමී
සුනු විසුනු කරමී
සුනු විසුනු කරමී
සුනු විසුනු වෙත්වා
සුනු විසුනු වෙත්වා
සුනු විසුනු වෙත්වා
දවා අළු දූලී කරමී
දවා අළු දූලී කරමී
දවා අළු දූලී කරමී
දැවී අළු දූලී වෙත්වා
දැවී අළු දූලී වෙත්වා
දැවී අළු දූලී වෙත්වා

මේ කයට බැඳෙන
සියලු අනවින කොඩිවින
හදි හූනියං ළපැලියා දෝස
වස විස බන්ධන
සප්ත සූරිය ශක්ති බලයෙන්
සුනු විසුනු කරමී
සුනු විසුනු කරමී
සුනු විසුනු කරමී
දවා අළු දූලී කරමී
සුනු විසුනු වෙත්වා
සුනු විසුනු වෙත්වා
සුනු විසුනු වෙත්වා
දැවී අළු දූලී වෙත්වා
සාධු සාධු සාධු



# බ්‍රහ්ම විහාරයෙන් නිවන් දකිමු...

ලොවිතුරා බුදුන් වහන්සේ ඇතුළු අරිහතුන් වහන්සේලා ඉහාත්ම සුඛ විහරණය සඳහා වාසය කරන විදිහක් තියෙනවා. ඒ කියන්නෙ පිරිනිවන් පාන්න කලින් උන්වහන්සේලා සුවයෙන් වාසය කරන විදිහ. විහාරය කියන්නෙ වාසය කරන විදිහ. විහාර තුනකින් උන්වහන්සේලා වාසය කරනවා. ඒ තමයි දිව්‍ය විහාරය, බ්‍රහ්ම විහාරය සහ අරිය විහාරය. මේ ක්‍රම තුනෙන් එකකින් තමයි උන්වහන්සේලා වාසය කරන්නෙ.

දිව්‍ය විහාරය කියල කිව්වෙ දැහැන් සුවයෙන් වාසය කිරීම. පළමු දැහැන, දෙවන දැහැන, තුන්වෙනි දැහැන සහ හතරවෙනි දැහැන කියන දැහැන් හතරෙන් එකකට සමවැදිල වාසය කිරීම. ලොවිතුරා බුදුන් වහන්සේ ලෝකයට පහල වෙන්න කලිනුත් ලෞකික දැහැන් ලාභීන් හිටියා. ඒ අයත් ලෞකික වශයෙන් මේ විහාරයේ වාසය කළා. නමුත් මෙතනදි කතා කරන්නෙ ආර්ය දැහැන් වඩපු උතුමන් ගැන. ඒ කියන්නෙ සෝවාන්, සකදාගාමි, අනාගාමි සහ අරිහත් උතුමන් වඩන දැහැන්. උන්වහන්සේලා ඉහාත්ම සුඛ විහරණය සඳහා මේ දැහැන්වලට සමවැදිල ඉන්නවා. අරිහතුන් වහන්සේලා හැර ඊට පහලින් ඉන්න උතුමන් මාර්ගය වඩා ගන්න පහසුවක් විදිහට මේ දැහැන්වල ඉඳන් විදර්ශනා කරනවා.

අනෙක් ක්‍රමය තමයි අරිය විහාරය. ඒ කියන්නෙ තමන් විසින් ලබපු මාර්ග ඵලයේ සුවය විඳිමින් ඉන්නවා. අරිහතුන් වහන්සේ අරිහත් ඵල සමාධියෙන් ඉන්නවා. ලොවිතුරා බුද්ධ සාසනයක මාර්ගඵලයක් ලබපු උතුමෙකුට විතරයි මේ ඵල සමාධියෙන් ඉන්න පුළුවන්. මාර්ගය වඩපු අය සුවසේ ඉන්නත්, මාර්ගය වඩන අය ඉදිරි මාර්ගය වඩාගන්නත් මේ ඵල සමාධියෙන් ඉන්නවා.

ඊළඟ ක්‍රමය තමයි බ්‍රහ්ම විහාරය. මේ ක්‍රමය තුලදි සතර බ්‍රහ්ම විහරණයෙන්, එහෙම නැත්නම් මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා කියන ක්‍රම හතරින් වාසය කරනවා. ලොවිතුරා බුදුන් වහන්සේ ඇතුළු සියලු අරිහතුන් වහන්සේලා මේ ක්‍රමයටත් වාසය කරල තියෙනවා. මේ ක්‍රමයත් ලෝකෝත්තර, ලෞකික වශයෙන් ක්‍රම දෙකක් තියෙනවා. නමුත් ලෝකෝත්තර ක්‍රමය ලොවිතුරා බුදුන් වහන්සේ නමකගෙන් හෝ උන්වහන්සේගෙන් අසා දැනගත් ශ්‍රාවකයන් වහන්සේ නමකගෙන් හැර අහගන්න වෙන කෙනෙක් නෑ. මේ විහරණය තුල සප්ත බොජ්ජංග ධර්ම වැඩිල නිවන් මාර්ගය වැඩෙනවා.

මෙත්තාව කියන්නෙ මෛත්‍රිය. නියම මෙත්තාව දන්නෙ ආර්යෙක් විතරයි. කෙනෙකුට සෙතක් පතනව නම් ඒ සෙත සදහටම විය යුතුයි. ඒ සෙත මගදි කැඩිල බිඳිල යනව නම්, නැවත දුකකට පමුණුවනව නම්, ඒක ලෝකෝත්තර සෙතක් නෙවෙයි. අඩුම තරමෙ සෝවාන් මාර්ග අනුගාමිකයෙක්ගෙන් හෝ සෝවාන් මාර්ගඵල ලාභියෙකුගේ පටන් ඉහල ඉන්න උතුමෙකුට විතරයි එහෙම සෙතක් කරන්න පුළුවන්. ලෝකයට ඒ ජාතියේ සෙතක් පතනව නම්, තමන්ට ඒ සෙත ගැන තේරුමක් හෝ හැඟීමක් තියෙන්න ඕන. ඒ වගේම සෙත් පතන්නෙ සියල්ලන්ටම. ඒ කියන්නෙ සියලු ලෝක සත්ත්වයින්ටම. පෙරදිග වසන සත්ත්වයෝද, පෙර අනු දිග වසන සත්ත්වයෝද, දකුණු දිග වසන සත්ත්වයෝද, දකුණු අනු දිග වසන සත්ත්වයෝද, පසු දිග වසන සත්ත්වයෝද, පසු අනු දිග වසන සත්ත්වයෝද, උතුරු දිග වසන සත්ත්වයෝද, උතුරු අනු දිග වසන සත්ත්වයෝද, උඩ දිග වසන සත්ත්වයෝද, යට දිග වසන සත්ත්වයෝද... ආදී වශයෙන් දස දිසාවෙම ඉන්න සියලු සත්ත්වයින්ට එක සමානව සෙත් පතනවා. කිසිම සත්ත්වයෙක් අයින් කරන්නෙ නෑ.

යම් කිසි කෙනෙක් පංචස්කන්ධයේ අසාර බව තේරුම් ගත්ත නම්, ඔහු හෝ ඇය සම්මා දිට්ඨියට පත්වුනා වෙනවා. ඒක ආර්යන් වහන්සේ නමකගෙන් බණ අහපු මොහොතක ප්‍රත්‍යක්ෂ වෙන හැඟීමක්. ආයතන වශයෙන්, ධාතු වශයෙන්, පටිච්ච සමුප්පාද වශයෙන්... ආදී ලෙස මේ මොන ක්‍රමයකට හෝ ලෝකය තේරුම් අරගෙන, ලෝකයේ අසාරත්වය ප්‍රත්‍යක්ෂ කර ගත්ත කෙනෙක් සදහටම සතර අපා දුකින් මිදුන වෙනවා.

සතර අපා දුක එසේ මෙසේ එකක් නෙවෙයි. ලෝක සත්ත්වයා වැඩිපුරම සසර සැරිසරන්නෙ සතර අපාගතව. තිරිසන් අපාය අපිට කෙලින්ම පේන්න තියෙන තැනක්. විවිධාකාරයේ සත්තු විඳින දුක අපට පේන්නම තියෙනවා. පාරෙ කොච්චර නම් කන්න නැතිව, ගුටි කකා එහෙට මෙහෙට දුවන බල්ලො පූසො ඉන්නවද? ලෙඩක් දුකක් හැදුනම කියාගන්න විදිහක් නෑ, අව්වට වේලි වේලි වැස්සට තෙමී තෙමී කුණු ගොඩවල්වල ලැගගෙන ඉන්නවා. ඒ වගේම එක සතෙක් තව සතෙක්ව ගොදුරු කරගන්නවා. සමහර සතුන්ට කොච්චර කෑවත් මදි බඩගින්න ඉවර වෙන්නෙ නෑ. කතාවක් තියෙනවා, කපුටෙක් තමන්ගෙ බඩගින්න දරාගන්න බැරිව රෑට උගේ කූඩුව ඇතුලෙ හත් වතාවක් කලන්තෙ දාල වැටෙනව කියල.

ඒ වගේම කැලෑවක ඉන්න සතෙක් නම් තමන් උලාකන තණකොළ ටිකවත් නිදහසේ කන්න අවස්ථාවක් නෑ. වෙන සතෙක් ඇවිත් ගොදුරු කරගනියි කියල කී වතාවක් නම් ඔළුව උස්ස උස්ස වටපිට බලනවද? ඉතින් ඔය කිව්වෙ තිරිසන් අපායෙ විතරක් තියෙන දුක. ඒ වගේම තමයි පෙරේත ලෝකෙ. ධර්මයේ සඳහන් වෙනවා, මහා ගංගාවක වතුර බිව්වත් පිපාසය සංසිඳෙන්නෙ නැති ප්‍රේතයන් ගැන. ඒ වගේම මළ මුත්‍රා, සෙම් සොටු... ආදිය ආහාරයට අරගෙන ජීවත් වෙන ප්‍රේතයන් ඉන්නවා. උන් මොන තරම් දුක් විඳින සත්ත්ව කොට්ඨාසයක්ද? මේ ගැන ලෝවැඩ සඟරාවෙ එන කවියකිනුත් මේ විදිහට කියවෙනවා.

**උපනත් ජේතව පව් කොට නොපනත්**
**කලෙකත් නොලැබෙයි සෙම් සොට පමණත්**
**උගුරත් නොතෙමෙයි සුර ගඟ වැටුනත්**
**කලෙකත් පින් නොකළැකි මැයි සිතුනත්**

අසුර නිකායවල ඉන්න සත්ත්වයොත් එහෙමයි. ඒ අයට විනිපාතික අසුර කියලත් කියනවා. මහා ශරීරත් එක්ක කොහේටවත් යාගන්න බැරිව, කල්ප ගණන් තැවී තැවී අව්වට පිච්චි පිච්චි, එහෙම නැත්නම් මහා ගඳ ගහන තැන්වල ඉන්න අසුරයො ඉන්නවා. ඒ අයට කිසිම ගැලවීමක් නෑ. ඊටත් එහාගිය තැනක් තමයි නිරය කියන්නෙ. ඒ වගේ නිරයවල් 136 ක් ගැන සඳහන් වෙනවා. නිරයේ විඳින දුක ගැන කියල නිම කරන්න බෑ. ඒ ගැන පැරණි පොත්පත්වල ඕන තරම් කතා සඳහන් වෙනවා.

ඉතින් සෝවාන් ඵලය ලැබුවා කියන්නෙ, මේ සතර අපා දුකෙන් සදහටම නිදහස් වුනා කියන එක. එතකොට මොන තරම් දුක් කන්දරාවකින් ගැලවෙන්න ඇත්ද? සෝවාන් නොවුන නම්, කෙනෙකුට තව කොච්චරනම් වාරයක් ඉපදෙන්න වෙයිද? කොච්චරනම් වාරයක් සතර අපාගතව දුක් විඳින්න වෙයිද? එහෙම ප්‍රමාණයක් කියන්නත් බෑ. ඒ කියන්නෙ සෝවාන් වුනොත් අප්‍රමාණ දුකකින් මිදුන වෙනවා. ඒ නිසා සෝවාන් වුන කෙනාට, මේ අප්‍රමාණ දුකින් මම මිදුන නේද කියන සුවය එනවා. ඒ සුවයට හිත තිව්වම හිත තැන්පත් වෙනවා. සතුටක් එනවා. මේ සතුට තුලින්, අනේ අනෙක් අයත් මේ දුකින් මිදුන නම් කොච්චර හොඳද කියල අවංක හිතින් සෙතක් පතන්න පුළුවන්. සෝවාන් කෙනා දුකින් මිදෙත්වා කිව්වම, දැන හෝ නොදැන මේ ශාන්තිය තමයි පතුරවන්නෙ. තමන්ට වැටහුන සුවය අන් අයටත් ප්‍රාර්ථනා කරනවා.

ඒ සුවයට තමයි නිවන් සුවය කියන්නෙ. සෝවාන් ඵලයෙදි සතර අපාගත නොවන මට්ටමේ සුවයක් දැනෙනවා. හිත තියෙන්නෙ නිවනට. ප්‍රාර්ථනා කරන්නෙත් ඒ සුවය. ඉතින් කෙනෙක් නිවනට මෙහා දෙයක් ගැන හිතනව නම්, ඒ සිතිවිල්ල අවිද්‍යා සහගත සිතිවිල්ලක්. නිවනට හිත තියෙනව නම් ඒ සිතිවිල්ල විද්‍යා සහගතයි. එහෙම නැත්නම් බෝධි අංගයක් වෙනවා. ඒ කියන්නෙ නිවන් මගට අයිති අංගයක් වෙනවා. මේ සිතිවිල්ල නිසා අනෙක් කෙනෙකුට සුවයක් පතනව වගේම, තමන්ගෙ හිත තියල තියෙන්නෙත් නිවනට. ඒ අනුව සති සම්බොජ්ජංගය වැඩෙනවා. නිවනටම සිහිය පිහිටනවා. ඉතින් මේ බ්‍රහ්ම විහරණය තුල නිදුක් වෙත්වා කිව්වම ඒ කෙනා දන්නවා, ලෝකය අසාරයි අල්ලන්න දෙයක් නෑ, එකම ශාන්තිය නිවන කියල. ඒ සිතිවිල්ල තුල සති සම්බොජ්ජංගය ඉබේම ක්‍රියාත්මකයි. නැවත දැනගත්තා හෝ නොදැනගත්තා හෝ කියල ප්‍රශ්නයක් නෑ. හිත තිව්වෙ නිවනට. ඒ නිවනමයි අනෙක් අයටත් පතන්නෙ.

ඉතින් මේ සිතිවිල්ල තුල දරන්නෙ නිවන කරා යන මාර්ගය. ඒ නිසා සිහි බුද්ධියෙන් හිතන කෙනෙකුට, මේ අධර්ම මාර්ගයක් නෙවෙයි, ධර්ම මාර්ගයක් කියල වැටහෙනවා. ඒ නිසා රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය වන මාර්ගය ඒ තුලට අයිතියි. ඒ නිසා ධර්මය මෙනෙහි කරනකොට වැඩෙන්නෙ ධම්ම විචය සම්බොජ්ජංගය. ඔය විදිහට සිතිවිල්ල තුල ඉන්නකොට, මම සතර අපායෙන් මිදුන කෙනෙක්, මහා දුකකින් මිදුනා, මම මේ ගමන් කරන්නෙ නිවන කරා යන මාර්ගයේ කියල හිතේ සතුටක් ප්‍රීතියක් හටගන්නවා. ලෝකය ඇල්ලීමෙන් නෙවෙයි මේ ප්‍රීතිය හටගන්නෙ. ලෝකය අත්හැරීමෙන් හටගන්න ප්‍රීතියක්. කොටින්ම කියනවනම් නිරාමිස ප්‍රීතිය. ඒ අනුව වැඩෙන්නෙ ප්‍රීති සම්බොජ්ජංගය. ඉතින් මේ ප්‍රීතියත් එක්ක ඊළඟට එන්නෙ සැනසීමක්. මේ සැනසීම එන්නෙ, මහා දුක් ගොඩකින් මිදුන නේද කියන හැඟීමත් එක්ක. කෙනෙක් කාමයන්ට බැඳෙන්න බැඳෙන්න ලෝකය පැත්තට බර වෙන්නෙ. ඒ අනුව ලෝකයේ අසාරත්වය දැකල ඒකෙන් මිදෙන පැත්ත තමයි නිවන. එතකොට ලෝකෙට තියෙන බර අඩු වෙනවා. හිතටයි ගතටයි මහා සැහැල්ලුවක් එනවා. මේ සැහැල්ලුව, සැනසීම එසේ මෙසේ එකක් නෙවෙයි. මේ සැනසීමත් එක්ක වැඩෙන්නෙ පස්සද්ධි සම්බොජ්ජංගය.

මේ සැනසීමත් එක්ක හිතෙනවා, මම මෙච්චර කල් ලෝකෙට බැඳි බැඳී නේද හිටියෙ, ඒත් මේ සුවය ඊට වඩා කොච්චර හොඳද කියල. තව තවත් ඒ නිවන පැත්තට ගමන් කරන්න වීර්ය වඩනවා. මේ වීර්ය වඩන්නෙ ලෝකය අල්ලන්න නෙවෙයි. තත්ව තානාන්තර ගන්නත් නෙවෙයි. ලෝකය අත්හරින පැත්තට තමයි වීර්ය වඩන්නෙ. ඒත් එක්කම වැඩෙන්නෙ විරිය සම්බොජ්ජංගය. ටිකෙන් ටික මේ වීර්යත් එක්ක හිත එහෙ මෙහෙ දුවන එක ටික ටික අඩු වෙනවා. හිතේ කම්පාව නැති වෙනවා. අකම්පය මානසිකත්වය තුල හිත සමාධිගත වෙනවා. රාගය, ද්වේශය, මෝහය නිසා ඇතිවෙන කැළඹීම අඩු වෙනවා. ඒත් එක්කම සමාධි සම්බොජ්ජංගය වැඩෙනවා. ඒ අනුව දැනගන්න පටන් ගන්නවා, මේ වැඩෙන හිතෙත් අල්ලන්න දෙයක් නෑ කියල. ඒ අනුව ලැබුන දර්ශන ඥාණයෙන් පවා අල්ලන්න දෙයක් නෑ කියන තැනට හිත වැඩෙනවා. හිත උපේක්ෂාවට පත්වෙනවා. මේකට කියනවා උපේක්ෂා සම්බොජ්ජංගය කියල.

ඉතින් ආර්ය උතුමෙක්ගෙන් බණ අහල, ඒ අනුව හිතල සම්මා

# නොපළ වූ ගුණ කඳ VIII



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

**අභයරතනාලංකාරය - 79**

## සාසනික දේ වැරදියට පරිහරණය කිරීමේ බරපතලකම තව දුරටත්

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ නොපළ වූ ගුණ කඳ යටතේ සිය අත්දැකීම් හෙළිදරව් කරන ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ, සාසනික දේවල් වැරදියට පරිහරණය කිරීමේ බරපතලකම ගැන පසුගිය කලාපයෙන් යම් යම් කරුණු කාරණා ඉදිරිපත් කළා. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ඇසුරෙන් දැන කියා ගත් තවත් ඒ වගේ අත්දැකීම් කිහිපයක් උන්වහන්සේ විසින් මෙවරත් හෙළිදරව් කරන්නෙ, මේ සාසන න්‍යායේ තියෙන බරපතලකම ගැන පෙන්වා දෙන්න. නොදැනුවත්කමින් හෝ සාසනික දේවල් වැරදි විදිහට පරිහරණය කිරීමෙන්, පින්වතුන්ට ඉදිරියේදී මුහුණ දෙන්න සිද්ධ වෙන කරදර බාධක මග හැරගෙන, දහම් නියමයන්ට අනුව ඉදිරි පැවැත්ම ගත කරල, උතුම් නිවන් සාක්ෂාත් කරගන්න මේ කරුණු බොහෝ උපනිශ්‍රය සම්පත්තියක් වෙයි කියල බලාපොරොත්තුවෙන් ඒ කරුණු මේ විදිහට සටහන් කරනවා.

දවසක් වහරක හාමුදුරුවො අපිත් එක්ක කතා කර කර ඉන්නකොට අපිට මෙහෙම කතාවක් කිව්වා. ස්වාමීන් වහන්ස, මම මේ ළඟදි දවසක කිහිප දෙනෙක් එක්ක ධර්ම සාකච්ඡාවක් කර කර ඉන්නකොට එතැනට තවත් මහත්තයෙක් ඇවිත් ඉඳගත්තා. ටික වෙලාවක් ඉඳල ඔහු මගෙන් එක පාරටම අහනවා, ස්වාමීන් වහන්ස ලේ අතීසාරය කියන්නෙ මොකක්ද කියල. මම ඉතින් ඒකට උත්තර දීල ධර්ම සාකච්ඡාව දිගටම කරගෙන ගියා. නැවතත් ටික වෙලාවක් ගිහින් අහනවා, ලේ අතීසාරය හැදුනම මොකද වෙන්නෙ කියල. මම ඒකටත් උත්තර දීල නැවතත් ධර්ම සාකච්ඡාව දිගටම කරගෙන ගියා. නැවතත් ටික වෙලාවක් ඉඳල ඔහු මගෙන් අහනවා, ලේ අතීසාරය හැදුනම මොකක්ද කරන්න ඕන, ලේ අතීසාරය හැදුනම ඇත්තටම මැරෙනවද කියල. මේ විදිහට වරින්වර මේ ගැන අහනකොට මට තේරුනා, මේ තැනැත්තා මම කරන ධර්ම සාකච්ඡාවට ඇහුම්කන් දෙන්නෙ නෑ, ඒකට අදාළ ප්‍රශ්නත් නෙවෙයි මේ අහන්නෙ, බොහොම බයෙන් සැකෙන් තමයි ඉන්නෙ කියල.

මම ඉතින් ඒ වෙලාවෙ කරගෙන ගිය දේශනාව විශේෂ නිසාත්, අනික් පිරිස ඒකට අදාළ ප්‍රශ්න උනන්දුවෙන් අහන නිසාත්, ඒ පිරිසටත් මේ අමතර ප්‍රශ්න අහන එක කරදරයක් බාධාවක් නිසාත්, ඒ දේශනාව කරගෙන යන අතරම සමාධියෙන් ඔහු ගැන යොමු කරල බැලුවා. එතකොට මට පේනවා, එදාම මේ විහාරස්ථානයට දවල් දානය අරගෙන බස් එකකින් දායක පිංවතුන් පිරිසක් ඇවිත් ඉන්නවා. ඒ අයගෙ මියගිය ඥාති පිරිස් මේ මනුස්සයට ඒ ලෝකෙ තියෙන ලී දඬුවලින්, අතින් පයින් ගහ ගහ කියනවා,

දිට්ඨියට පත්වුන සෝවාන් ඵල ලාභියා, කෙනෙකුට නිදුක් වෙත්වා කියල ආර්ය මෙත් සිතින් යුක්තව නිතර වඩනව නම්, ඒ අනුවයි සප්ත බොජ්ජංග ධර්ම පිළිවෙලින් වැඩිල නිවන් මාර්ගය වැඩෙන්නෙ. ඉතින් ඔය විදිහට බොජ්ජංග ධර්ම වැඩීගෙන යනකොට හිත වැඩෙන්නෙත් අත්හැරී නොඇලී මිදී යන මාර්ගයට. ඒ විදිහට මාර්ගය තුල කාම රාග තුනී වේගෙන යන්න පටන් ගන්නවා. ඒ වැඩෙන්නෙ සකදාගාමි මාර්ගය. කාම රාග තුනී වුනා කියල දැනගන්න තැනට එනකොට සකදාගාමි ඵලය ලැබෙනවා. සම්පූර්ණයෙන් කාම රාග පටිස දුරුවෙලා හිත සැනසීමට පත්වෙන තැනට ආවම අනාගාමි ඵලය. ඒ වැඩෙන මාර්ගය අනාගාමි මාර්ගය. ඊට පස්සෙ අරිහත් මාර්ගයෙදි උපේක්ෂා සම්බොජ්ජංගය පූර්ණ වෙන්න පටන් ගන්නවා. සප්ත බොජ්ජංග ධර්ම සියල්ල පූර්ණ වුනාම අරිහත් ඵලය. ඒ අනුව මේ මාර්ගය වැඩුනෙ බ්‍රහ්ම විහරණයෙන්. එහෙම නැත්නම් බ්‍රහ්ම විහාරයෙන්.

ඉතින් මූලිකව මෙත්තා සහගත සිතිවිලිවලින් පටන් ගත්ත ගමනක්. තමන් විසින් ලබාගත්ත ශාන්තියට හිත පිහිටුවාගෙන ලෝකයාටත් ඒ ශාන්තිය පතුරවමින්, කරුණාව, මුදිතාව, උපේක්ෂාව ඇතුළු සතර බ්‍රහ්ම විහරණයෙන් නිවන් මාර්ගය වැඩෙන ක්‍රමයක්. ඒ අනුව ආර්ය මෛත්‍රිය තුලින් විතරක් වුනත් සප්ත බොජ්ජංග ධර්ම වඩල නිවන් මාර්ගය පූර්ණ කරගන්න පුළුවන්.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**

දානෙ හොරා දානෙ හොරා කියල. ඉතින් බලනකොට මනුස්ස ලෝකෙ එක්කෙනෙකුට ගුප්ත ලෝකයේ විසාල පිරිසක් ගහනවා, බනිනවා, විරුද්ධව වැඩ කරනවා.

මම ඊට පස්සෙ තවත් විමසිල්ලෙන් බැලුවම පේනවා, මේ මනුස්සයා සාසනය උදෙසා පූජා කරපු එදා දානයේ කිරි පැණි වගයක් බුද්ධ පූජාව තියන්නත් පෙර, භික්ෂූන් වහන්සේලා පරිහරණය කරන්නත් පෙර හොරෙන් හංගගෙන කාල තියෙනවා. ඒ නිසා තමයි මේ අමනුස්ස ලෝකෙ අය ගහන්නෙ බනින්නෙ, ඒ වගේම ලේ අතීසාරය හැදිල තියෙන්නෙ. ලේ අතීසාරය කියල කිව්වෙ ලේබඩයාම. අර හොරෙන් කාපු වෙලේ ඉඳන් කිහිප වතාවක්ම ලේබඩ ගිහින් තියෙනවා. මම ඉතින් ඔහුට කිව්වා, මහත්තය මොනව හරි දානමානයක් පූජා කරපු ඒවායින් බුද්ධ පූජාව තියන්නත් පෙර, භික්ෂූන් වහන්සේලා පරිහරණය කරන්නත් පෙර කැවිල තියෙනවා, ඒ නිසා ඉක්මනට විහාර මන්දිරයටවත් ගිහින් බුදුන් වැඳල කමා කරල, නැවතත් එවැනි දේ කරන්නෙ නෑ කියල ආයති සංවරයේ පිහිටන්න කියල.

ඉතින් ඒ මහත්තය ඒ වෙලාවෙම විහාර මන්දිරයට ගිහින් බුද්ධ වන්දනා කරල සාසන කමා කිරීමත් කරල, නැවත එවැනි වැරදි දේවල් කරන්නෙ නෑ, එවැනි වැරදි ඉදිරියේදි මා අතින් නොකෙරේවා කියල අධිෂ්ඨාන කරල ආවට පස්සෙ අර ලේ අතීසාරය ඒ වෙලාවෙම නතර වුනා.

මේ සිදුවීමත් එක්ක මටත් ඒ වෙලාවෙ අත්දැකීමෙන්ම තේරුනා, **සාසනයට පූජා කරන දේවල්වල මුල් කොටස බුද්ධ පූජාවට තියල, සෙසු කොටස භික්ෂූන් වහන්සේලා ඉඳුල් කරන කල් අනික් අයට හිමිකමක් නැති** බව. ඒ නිසා මම අපේ පන්සලේ ඉන්න අයටත් කිව්වා, මේ වගේ සිදුවීමක් වෙලා තියෙනවා, ඒ නිසා විහාරස්ථානයට දානයක් ගෙනාවම ඒකෙ මුල් කොටස බුද්ධ පූජාවට තියල, කවුරුහරි භික්ෂූන් වහන්සේ නමක් ලවා ඉඳුල් කරල තමයි සෙසු පිංවත් අය වෙනුවෙන් වෙන් කරන්න ඕන කියල. ඒ අයත් දැන් ඒ විදිහට කරනවා. මේ ක්‍රමය ඔබවහන්සේලාත් අනුගමනය කරනව නම් බොහොම හොඳයි. ඒ නිසා කැමති නම් මේ ක්‍රමය අනුගමනය කරන්න කියල එදා වහරක හාමුදුරුවො අපට උපදෙස් දුන්නා. තමන් වහන්සේ ලබපු ඒ වගේ ධර්මානුකූල වටිනා අත්දැකීම් අනික් අය අතරෙත් බෙදා හදාගෙන, හැම දෙනාටමත් මේ මාර්ගය පහසු කරගන්න පුළුවන් ක්‍රමවේද හෙළිදරව් කරන ගුණයක් වහරක හාමුදුරුවො ළඟ ගිහි කාලෙ ඉඳන්ම තිබුනා.

ඉතින් අපිත් යම් යම් අවස්ථාවල අවවාද අනුසාසනා ලබාගන්න, අපිට බොහොම හිතවත් වැඩිහිටි ස්වාමීන් වහන්සේ නමක් එක්ක මේ අතීත සිදුවීම මම මේ ළඟදි දවසක කිව්වා. එතකොට ඒ ස්වාමීන් වහන්සේ, ඇයි ඔබවහන්සේට මතක නැත්ද ඔය වගේ සිදුවීමක් අහවල්... මහත්තයටත් සිද්ධ වෙලා තියෙනව කියල ඒ විස්තරයත් මේ විදිහට කිව්වා. එක දවසක් අහවල්... මහත්තය වහරක විහාරස්ථානයට ඇවිත් ඉන්නකොට, වතුර තිබහ හැදිල වටපිට බලනකොට තැඹිලි ගොඩක් තියෙනව දැක්කා. එයින් ගෙඩියක් කපාගෙන බීල තමන් ආපු අවශ්‍යතාවයත් ඉෂ්ට කරගෙන එදාම තමන්ගෙ ගමට ගිහින් තියෙනවා. එදා දවසෙ වැඩ අවසන් කරල රෑ නින්දට ගිහින් නින්ද යාගෙන එනකොට ඔහුට ඇහෙනවලු, හොරා හොරා ආදී වශයෙන් කියන කටහඬක්. වටපිට බැලුවම කවුරුවත් පේන්න නෑ. ටික වෙලාවක් ඉඳල නැවතත් නින්ද යාගෙන එනකොට හොරා හොරා කියල ඇහෙනවලු. මේ විදිහට නින්ද යාගෙන එනකොට ඇහෙන්නෙ හොරා හොරා කියන හඬ විතරයි. කොහොම හරි ඔහුට රෑ එළිවෙනකල්ම නිදාගන්න දීල නෑ.

මේ සිදුවීම ගැන ඔහුට තේරුම් ගන්න බැරිවීම නිසා, නැවතත් වහරක විහාරස්ථානයට ගිහින් මේ පිළිබඳව වහරක හාමුදුරුවොත් එක්ක සාකච්ඡා කළාට පස්සෙ තමයි දැනගෙන තියෙන්නෙ, සාසනය වෙනුවෙන් පූජා කරපු තැඹිලි බුද්ධ පූජාව තියන්නත් පෙර, භික්ෂූන් වහන්සේලා පරිහරණය කරන්නත් පෙර පරිහරණය කිරීම නිසා මේ විදිහෙ දෙයක් සිද්ධ වෙලා තියෙන බව. ඉතින් මේ අතීත සිදුවීම උන්වහන්සේ නැවතත් මට සිහිපත් කරල දුන්නා.

තවත් දවසක එක්තරා මහත්තයෙක් ඇවිත් වහරක හාමුදුරුවො එක්ක සාකච්ඡා කරන වෙලාවක, වහරක හාමුදුරුවො ඔහු ගැන සමාධියෙන් යොමු කරල බැලුවම දැකල තියෙනවා, ඔහුට දීර්ඝ කාලයක පටන් තියෙන කායික රෝගාබාධයක් පිළිබඳව. ඒ ගැන ඔහුට කිව්වම ඔහු කියනවලු, ඔව් මගේ ඇඟට ලොකු අමාරුවක් නම් තියෙනව තමයි, අත් දෙකෙන් පොඩ්ඩ බරක්වත් උස්ස ගන්න බෑ හරි වේදනායි, සෑහෙන කාලයක පටන් වෙදකම් කළත් තවම සුවයක් නම් නෑ කියල. එතකොට වහරක හාමුදුරුවො එහෙම වෙන්න හේතු වෙච්ච, සසරෙදි කරපු කර්ම විපාකයක් පිළිබඳව කිව්වා. දැනට අත්බැව් කිහිපයකට පෙර ඔහු යකඩ, රත්‍රං... ආදී නොයෙක් ලෝහ වර්ගවලින් කටයුතු කරන ව්‍යාපාරයක් කරගෙන ගිහින් තියෙනවා. ඒ කටයුතු කරනකොට ටිකක් වයෝවෘද්ධ ගිලන් භික්ෂූන් වහන්සේ නමක් ඔහු ළඟට ඇවිත්, තමන් වහන්සේ ළඟ තියෙන පාත්‍රයක් සුද්ධ පවිත්‍ර කරල සකස් කරල දෙන්න කියල බාර දීල තියෙනවා. ඒක බාර අරගෙන සකස් කරන වෙලාවෙදි ඔහු දැනගෙන තියෙනවා, ඒ පාත්තරය රත්‍රංවලින් හදපු එකක් බව. නමුත් ඒ භික්ෂූන් වහන්සේ ඒ ගැන නොදන්නා බවත් දැනගෙන, උන්වහන්සේට වෙනත් පාත්‍රයක් හදල දීල අර වටිනා රත්‍රං පාත්‍රය වංචා සහගතව තමන් සතු කරගෙන තියෙනවා.

ඒ නිසා තමයි එදා කරගත්ත කර්ම විපාකයේ ශේෂ මාත්‍ර කොටසක් ඉතිරි වෙලා තිබිල විපාක විදිහට ඇවිත් මේ රෝගාබාධය ඇතිවෙන්න හේතු වෙලා තියෙන්නෙ. මේ බව ඔහුට පැහැදිලි කරල දුන්නම, බොහොම ගෞරවයෙන් ඒ කාරණය පිළිඅරගෙන, එදා මගේ නොදැනුවත්කම නිසා එහෙම සිද්ධ වෙන්න ඇති කියල, එහෙම සිද්ධ වෙලා තියේ නම් ඒ සඳහා අද කරන්න පුළුවන් ප්‍රතිකර්මයක් පිළිබඳවත් විමසුවා. එතකොට වහරක හාමුදුරුවො කියනවා, මේ මේ ආකාරයෙන් විශේෂ කිරිබතක් සකස් කරගෙන ඒක රත්‍රං පාත්‍රයකට බෙදාගෙන පාත්‍රය පිටින්ම සාසනයට පූජා කරල සාසන කමා කිරීමක් කරන්න ඕන කියල. එහෙම කියල ඒ සඳහා අවශ්‍ය උපදෙස් ආදියත් දුන්නා.

ඔහු එදා ගමට ගිහින්,මම කොහොමද එච්චර මුදලක් වියදම් කරල රත්‍රං පාත්‍රයක කිරිබත් පූජාවක් කරන්නෙ කියල කල්පනා කර කර ඉන්නකොට, වහරක හාමුදුරුවොත් එක්ක එදා කරපු දහම් සාකච්ඡාව නැවත සිහිපත් කළා. ඒ ඔස්සේ ධර්මානුකූලව හොඳ අදහසක් ඇවිත්, විහාරස්ථානයේ සිද්ධ කරන මනෝමය මහා බුද්ධ පූජාව, විශේෂ සෙත් පූජාව සිහි කරගෙන, ඒ ආකාරයේ මනෝමය මහා බුද්ධ පූජාවක් කරන්න අධිෂ්ඨාන කරගත්තා. ඒ මොහොතේ පටන්ම ඒ සඳහා මිල මුදල් හොයන කොටත්, කඩපිලට යනකොටත්,

# අභයරත්නාලංකාරය



බුද්ධ පූජාව තියල පූජා කරන්න රත්‍රං පාත්‍රයක් ගන්න ආකාරයත් හිතෙන් මවාගෙන, මැටි පාත්‍රයක් අරගෙන බොහොම ගෞරවයෙන් කිරිබතක් හදාගෙන, ඒ පාත්‍රයට බෙදාගෙන තවත් ලේන්සුවකින් වහගෙන, රත්‍රං පාත්‍රයක මහා විශේෂ කිරි ආහාර පූජාවක් කරන ආකාරයෙන් සෙසු අයටත් අතහිත දීගන්න සලස්වල, වහරක පන්සලේ විශේෂ පූජාව තියන දවසක ඒ බුද්ධ පූජාවට සම්බන්ධ කරගෙන බුද්ධ පූජාව තියල සාසන කමා කිරීමක් කළා. ඉදිරියේදි සම්මා සම්බුද්ධ සාසනයට අවැඩක් අසාධාරණයක් නොකෙරේවා කියල අධිෂ්ඨාන කරල කටයුතු කිරීමෙන් ඒ තිබ්බ කායික රෝගාබාධය දින කිහිපයකින්ම සම්පූර්ණයෙන් සුව වුන බවත් ප්‍රකාශ කළා.

ඒ වගේම මේ ළඟදි දවසක මම ඉන්න විහාරස්ථානයට එක්තරා මහත්තයෙක් ආවා. ඒ වෙලාවෙ බුද්ධ පූජාව තියල දවල් දානෙ ගෙනාපු පින්වතුන්ට පිං අනුමෝදන් කරන වෙලාව. අපි ඉතිං ඒ කටයුතු අවසන් කරනකොට තරමක් දවල් වෙලා තිබුන නිසා ඒ වෙලාවෙම දානයත් වැළඳුවා. අපිටත් ටිකක් ප්‍රමාද වෙච්ච අවස්ථාවක් නිසා අවසානයේ අපි ඒ මහත්තයට කිව්වා, ආපු කාරණාව පසුව කතා කරමු, දැන් දවල් ආහාරය ගන්න කියල.

එදා විහාරස්ථානයට විසාල පිරිසක් දානය අරගෙන ඇවිත් හිටියා. ඒ වගේම දානය විසාල ප්‍රමාණයකුත්, භාජන විසාල ප්‍රමාණයකුත් තිබුනා. අපි ඉතින් හැම භාජනයකින්ම ටික ටික අරගෙන තමයි දානය වැළඳුවේ. කාල වෙලාවත් ඉක්ම යන්න ආසන්න වෙලා තිබ්බ නිසා, අපිත් තරමක් අවිවේකයෙන් තමයි ඒ කටයුතු කළේ. කොහොම නමුත් අපි දානය වළඳන ආසන්නයේම ඒ මහත්තයත් හිටපු නිසා මම කිව්වා, අපිට නම් දානය වළඳන්න ගියාම වහරක හාමුදුරුවො හැමදාම මතක් වෙනව කියල. මොකද විහාරස්ථානයට ගේන දානයේ හැම එකකින්ම ඉඳුල් කරන්න කියල අපිට වහරක හාමුදුරුවො කියල තියෙනවා. ඒ නිසා අපි හැම දානෙ කොටසකින්ම මුල් කොටස බුද්ධ පූජාවට තියල ඉතිරි කොටස ඉඳුල් කරල තමයි දානය තැන්පත් කරල තිබුන ආසනයෙන් ඉතිරි ඒවා ඉවත් කරන්නෙ. එතකොට ඕනම කෙනෙකුට ඉතිරි ඒවා පරිහරණය කරන්නත් පුළුවන් කියල මම කිව්වා.

එතකොට ඒ මහත්තය, ඒක හොඳයි අපි නම් ඒ කාරණාව දන්නවා, වහරක හාමුදුරුවො වැඩ හිටපු ආරාමෙත් මම ඉන්න දවසක විශේෂ සිදුවීමක් වුනා කියල මෙහෙම කතාවක් කිව්වා. වහරක හාමුදුරුවො හමුවෙන්න ආපු දායක පිංවතුන් පිරිසක් මොනවහරි පිරිකර පූජාවක් ගෙනත් පූජා කළා. ඒවා ආවරණය කරල වහල තිබ්බ නිසා, ඇතුලෙ මොනව තියෙනවද කියල දන්නෙත් නෑ. අපිත් ඉතිං ඒවා අරගෙන වෙනත් තැනක තිව්වා. ටික වෙලාවක් ගිහින් වහරක හාමුදුරුවො අපෙන් අහනවා, ඔය ගෙනාපු පාර්සල්වල මේ මේ ජාති තියෙනවද කියල. අපි කිව්වා, අපි නම් තවම බැලුවෙ නෑ හාමුදුරුවනේ මොනව තියෙනවද දන්නෙත් නෑ කියල. එතකොට හාමුදුරුවො කිව්වා, හා බලමු බලමු මොනවද තියෙන්නෙ කියල. අපිත් ඉතින් හාමුදුරුවො කිව්ව නිසා, ඒ කියපු ඒවම තියෙනවද කියල බලන්න බොහොම සතුටින් අර පාර්සල් ලිහල බැලුවා. අපිටත් හරි පුදුමයි. හාමුදුරුවො කියපු ජාති සියල්ලම ඒවායේ තිබුනා. වහරක හාමුදුරුවො ඒ වෙලාවෙම, හා ඕවා මෙහාට ගන්න කියල ඒවායෙන් ඉතාම ස්වල්පය බැගින් අරගෙන ඉඳුල් කරල එතැනින් ඉවත් කළා.

ඒ කාලෙ වහරක හාමුදුරුවො බොහොම ගිලන් තත්ත්වයෙන් හිටියෙ. එහෙම ඉඳෙද්දිත් අර විදිහට කටයුතු කිරීම ගැන මම හාමුදුරුවන්ගෙන් ඇහුවා. එතකොට උන්වහන්සේ කියනවා, ඒවා පූජා කරපු දායක පිංවතුන්ගේ මියගිය ඥාති පිරිස නම් ගම් කියල කෑ ගහනවා, මේ මේ ජාති ගෙනාවට තවම අපිට (හාමුදුරුවන්ට) දුන්නෙ නෑ කියල, ඒ නිසා තමයි මම ඒවා ඉඳුල් කරල දුන්නෙ කියල.

ඉතින් වහරක හාමුදුරුවො ඒ තරම් ගිලන් තත්ත්වයේ හිටියත්, සියලු ලෝක සියලු සත්ත්වයන් වෙනුවෙන් දයානුකම්පාවෙන් කටයුතු කරපු හැටි ඒ මහත්තය අපිත් එක්ක කිව්වා. එහෙම කියල නැවතත් මේ විදිහට විස්තර කරනවා. අපි වහරක හාමුදුරුවො ඉන්න තැනට යන එන නිසා, ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙන නිසා, දහම් කරුණු කාරණා පිළිබඳ අහල හොයල බලල කටයුතු කරන නිසා, ඒ වගේ කරුණු කාරණා පිළිබඳව දන්නවා. නමුත් වෙනත් තැන්වල නම් ඕවා පිළිබඳ මොකුත්ම දන්නෙ නැහැනේ. මම නම් ඉතින් දවසක් දෙකක් කන්න නැතිව බඩගින්නෙ හිටියත්, විහාරස්ථානයකට ගියාම හොඳට හොයල බලල පුද පූජා සඳහා පූජා කරල, ස්වාමීන් වහන්සේලාත් පරිහරණය කරල අවසන් කරල සෙසු අය වෙනුවෙන් නිදස් කරපු දේවල්ද කියල හොඳට බලල මට විස්වාස නම් විතරයි මම මොනවහරි ගන්නෙ. ඒ නිසා සමහර දවස්වල විහාරස්ථානවලට ගිහින් දානෙ ගන්න වෙලාවට ඒ දානෙ නොගෙන බඩගින්නෙන් හිටපු අවස්ථා පවා තියෙනවා.

මේ කාලෙ විසාල වශයෙන් සිවුපසය ලැබෙන සමහර විහාරස්ථාන තියෙනවා. ඒ පිරිස් ඒවා සාසනය වෙනුවෙන් පූජා කරල මහා යහපතක් කරගන්නවා. තවත් සමහර උදවිය සාසනික දේවල් පවා තම තමන්ගෙ ගෙවල් දොරවල්වලට ගෙනියන අවස්ථා තියෙනවා. දහම් අවබෝධයක් නැති නිසා ඒ වගේ විසාල පිරිසක් හිතන්න බැරි තරම් මහා විනාසයක් කරගන්නවා. ඉතින් මටත් දැන් තමයි තේරෙන්නෙ, බුද්ධ සාසනයක් මතු වුනාම සුගතිය නිවන පූර්ණ

කරගන්නව වගේම, වැඩි පිරිසක් සතර අපායටත් යනව කියන එකේ තේරුම. මේ විදිහට ඒ මහත්තය ඒ වගේ කතා කීපයක්ම අපිත් එක්ක කිව්වා.

ඉතින් මටත් වහරක හාමුදුරුවො සහ ඒ යන එන පිරිස් ආශ්‍රය කරල ලබපු මේ වගේ අත්දැකීම් නම් ඕන තරම් කියන්න තියෙනවා. සමහර දේවල් තියෙනවා කියලත් බෑ. ඒ වුනාට නොකියත් බෑ. සමහරවිට මාත් එක්කත් ප්‍රශ්න හදා ගනීවි, මේ හාමුදුරුවො රටේ ලෝකෙ අය හදන්න යනව කියල. ඒ වුනත් මොනවා කරන්නද? ලෝකයාගේ යහපත සඳහා යමක් ඇහුවම, අපි තේරුම් ගත්ත දන්න කියන දෙයක් නොකියා ඉඳීම ගැලපෙන්නෙත් නැනෙ.

ඒ වගේ තවත් අපිට නිතර දකින්න තියෙන දෙයක් තමයි, මේ කාලෙ බොහෝ වෙහෙර විහාරස්ථානවල බොහෝ දුරට පාසල් යන වයසෙ ළමයි වගේම, රැකී රක්‍ෂා සඳහා යන එන වැඩිහිටි උදවියත් නතර වෙලා තම තමන්ගෙ කටයුතු පහසුවෙන් කර ගැනීමේ ක්‍රම අනුගමනය කරනවා. ඒ අය දන්නෙම නැතිව මෙලොව වශයෙන් පොඩි ලාභයක් ලැබුනත්, දහම් අවබෝධය අඩු වීම නිසා සසර ගමන පැත්තෙන් නම් මහා විනාසයක් සිද්ධ කරගන්නවා.

සමහර විහාරස්ථානවලට දානෙ ගෙනාවම, සමහර දායක පිංවතුන් ඒවා දාන ශාලාවෙ පැත්තකින් තියල ගෙදර යන අවස්ථාත් තියෙනවා. එතකොට පන්සලේ ඉන්න ළමයි වගේම, නැවතිලා රැකියා සඳහා යන අයත් අර ගෙනාපු දානෙන් බෙදාගෙන කාල තම තමන්ගෙ කටයුතුවලට යන අවස්ථා තියෙනවා. භික්ෂූන් වහන්සේලා සමහරවිට ටිකක් දවල් වෙලා තමයි දානය වළඳන්නෙ. බොහෝ විට නායක හාමුදුරුවන්, ලොකු හාමුදුරුවන් උදේට මළුව ඇමදල පිරිසිදු කිරීම නිසා හෝ බාහිර කටයුතු නිසා හෝ දානය වළඳන්න ප්‍රමාද වෙන අවස්ථා තියෙනවා. සමහර දවස්වල දානය වළඳන්නෙත් නැති අවස්ථා තියෙනවා. සමහරවිට ගිලන්පස ටිකක් විතරක් වළඳල ඉන්න අවස්ථාත් තියෙනවා. ඒ වගේ අවස්ථාවල බුද්ධ පූජාවට සහ භික්ෂූන් වහන්සේලාට වෙන් නොකර, විහාරස්ථානයේ තියෙන දානය පරිහරණය කරන පින්වතුන් නොදැනුවත්වම විසාල වරදකට අහුවෙනවා. සාසනික දේ නොගැලපෙන ආකාරයට පරිහරණය කළා වෙනවා.

මේ වගේ සිදුවීම් රටේ ලෝකෙ ඕන තරම් තියෙනවා. ඒ පිළිබඳ අත්දැකීම් ලබපු අය තවත් අපි අතර ඉන්න නිසා, ඒ ගැන සැක හිතන්න නම් දෙයක් ඇත්තෙම නෑ. ඒ වුනත් ඉතින් මේ වගේ දේවල් පේන්න තිබුනත් පිළිගන්නෙ නැති බොහෝ පිරිසකුත් ඉන්නවා. කිව්වට හැමෝම විස්වාස කරන්නෙත් නෑ. ධර්මය වුනත් කියල හැමෝටම තේරුම් කරල දෙන්නත් බෑ. බොහොම ටික දෙනයි තේරුම් අරගෙන ධර්ම මාර්ගය පූර්ණ කරගෙන නිවී සැනසෙන්නෙ.

වර්තමානයේ වෙහෙර විහාරස්ථානවලට දහම් අවබෝධයක් තියෙන පින්වතුන් වගේම, කිසිම දහම් අවබෝධයක් නැති අයත් බොහෝ සෙයින් නිතර නිතර යන එන නිසා, විශේෂයෙන් ඒ ඒ විහාරස්ථානවල වැඩ ඉන්න ගෞරවනීය භික්ෂූන් වහන්සේලා සාසනික පුද පූජා පිළිබඳව වඩාත් දැනුවත් වෙන්න ඕන. විශේෂයෙන් ශ්‍රී සද්ධර්මය නැවත මතු වෙලා තියෙන මේ කාලයේ බණ අහන, හේතු සම්පත් තියෙන තරුණ පින්වත් පිරිස් බොහොම පැහැදීමෙන් සාසන මග අනුගමනය කිරීම සඳහා සියලු සම්පත් අත්හැරල පැවිදි වෙන බව පේන්න තියෙනවා. ඊට පස්සෙ පැවිදි උතුමන් වහන්සේලා හැටියට කටයුතු කරන නවක භික්ෂූන් වහන්සේලා විසාල වශයෙන් බිහි වෙන මේ කාලයේ, සාසන මාර්ගය අනුගමනය කරනව වගේම, ඒ සඳහා ඇතිවෙන බාධක ආදිය පිළිබඳවත් දැනුවත් වෙන්න ඕන.

දීර්ඝ කාලයක් තුළ පවත්වාගෙන ආපු සිරිත් විරිත් සහ ඇවතුම් පැවතුම් ආදියට හානියක් නොවන ආකාරයෙනුත්, තම තමන්ගෙ ආර්ය මාර්ගයට බාධා නොවන ආකාරයටත්, ධර්ම විනයානුකූලවත්, තමන්ගෙ කටයුතු නිසා සෙසු ලෝකවාසී සත්ත්වයින්ට මෙලොව වශයෙන් හා සංසාරික වශයෙන් බාධා නොවන ආකාරයටත් තම තමන්ගෙ එදිනෙදා කටයුතු කරගන්න ඕන.

දැන් මෙච්චර කාලයක් කරපු දීර්ඝ සාකච්ඡාවලින් පැහැදිලි වෙන්න ඕන, සාසනික දේවල්වල තියෙන වටිනාකම වගේම, ඒවා අනිසි විදිහට අනවබෝධයෙන් පරිහරණය කිරීම කොයි තරම් බරපතල වරදක්ද කියල. සාසනික දේවල් පරිහරණය කිරීම මේ තරම් බැරෑරුම් කටයුත්තක්, වරදක් බව හැබෑ නම්, ඊළඟට අපි කළ යුත්තේ, අපි අතිනුත් දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ සම්මා සම්බුද්ධ සාසනයට හෝ යම් සත්ත්වයෙකුට හෝ දස අකුසලයකින් හෝ දස අකුසල් කර්ම පථයකින් හෝ අවැඩක් අසාධාරණයක් වරදක් ප්‍රමාද දෝසයක් සිද්ධ වෙලා තියේ නම්, ඒ සඳහා අනුගමනය කළ යුතු ක්‍රමවේදයත්, ඉදිරියේදි ඒ වගේ දේවල් සිද්ධ නොවීමට අවශ්‍ය කරන පරිසරය ගොඩ නගා ගැනීමත් පිළිබඳව දැනුවත් වීම. ඒ නිසා දැන හෝ නොදැනුවත්ව හෝ සිද්ධ වෙලා තියෙන වැරදිවලට, වන්දනාමාන කරල අධිෂ්ටාන කරල කමා කර ගැනීමත්, දානමානාදිය පූජා කිරීමත් තුලින් නිදහස් වෙන්න පුළුවන් ක්‍රම මේ සාසනයේ තියෙනවා. වහරක හාමුදුරුවො ලෝක සත්ත්වයා ගැන දයානුකම්පාවෙන්ම අත්දැකීම් සහිතවම ඒ වගේ ක්‍රමවේද මතු කරල දීල තියෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සසර ගමන එතරම්ම බියකරුය... 01 කොටස

මහ බෝසතාණන් වහන්සේලා අති දීර්ඝ කාලයක් සසර දුක පැණි රසක් විදිහට අරගෙන පාරමී ගුණ පුරන්නෙ, නොනවතින සසර අනාථ ගමනක සැරිසරන සත්ත්වයන් මුදවා ගැනීමේ අප්‍රමාණ කරුණා ගුණයෙන් යුක්තව. මහ බෝසත්වරුන්ගෙ පාරමිතා පුරන කාලයේ පටන් තිබුනෙ එකම පැතුමයි.

සංසාර සෝතං ඡින්දිත්වා
විද්ධංසෙත්වා තයෝ භවේ
ධම්ම නාවං සමාරුය්හ
සන්තාරෙස්සං සදේවකං

සසර ගමන සැඩ පහරක්. සෝත කියන්නෙ වේගයෙන් ගලා බහින සැඩ ජල පහරකට කියන නමක්. ජල පහරකට අහුවෙච්ච කෙනෙක් මරණය හෝ මරණය සමාන දුකකට පත්වෙන්න පුළුවන්. සසර සැඩ පහර ඊටත් වඩා දරුණුයි. ඒකට අහුවුන සත්ත්වයා සතර අපායට වැටෙමින්, කියන්න බැරි තරම් මහා දුකකට පත්වෙනවා. ලෝකයේ සියලු සත්ත්වයන්ට තියෙන්නෙ මේ මහා අනතුර. "ඡින්ද සෝතං පරක්කම්මං" දැඩි වීර්යකින් මේ සසර සැඩ පහර සිඳ දැමිය යුතු බව තථාගතයන් වහන්සේ වදාළා. පටිසෝතගාමී කියන්නෙ සසර සැඩ පහරට විරුද්ධව ගමන් කිරීම. ඒක උඩුගං බලා පිහිනීමක් වගේ. ඒ නිසා අරි අටඟි මගටත් සෝතය කියලත් කියනවා. (අරියෝ අට්ඨංගිකෝ මග්ගෝ සෝතෝ)

ලෝකය සාරයි කියල රැවටෙන තාක් සත්ත්වයාට භව ගමනෙන් ගැලවීමක් නෑ. මේ වගේ සසර සැඩ පහර සිඳල (සංසාර සෝතං ඡින්දිත්වා) කාම, රූප, අරූප කියන තුන් භවයම නැති කරල (විද්ධංසෙත්වා තයෝ භවේ), ධර්මය නමැති නැවට නැගල (ධම්ම නාවං සමාරුය්හ), දෙවියන් සහිත ලෝකයා සසර සැඩ පහරින් එතෙර කරවන්නෙමි. (සන්තාරෙස්සං සදේවකං) මේ තමයි මහ බෝසතාණන් වහන්සේගේ කරුණා හදවතින් නැගුන එකම පැතුම.

මෙයින් සාරා සංඛ්‍ය කල්ප ලක්ෂයකට පෙර හතර පද ගාථාවක් අහල සසරින් මිදෙන්න හේතු සම්පත් තියෙද්දි, අතට පත්වෙච්ච නිවන පසෙකට දමල සසරට බැස්සෙ තමන් වෙනුවෙන් නෙවෙයි, භව කතරට වැටිල සසර ගමන් කරන සත්වයා මේ මහා දුක් ගංගාවෙන් එතෙර කරවන්න. අපි දුක් විඳින්නෙ අපේ අවිද්‍යාව නිසා. නමුත් මහ බෝසතාණන් වහන්සේ නිවන් අවබෝධ කරන්න හේතු සම්පත් තියෙද්දිත් සසර දුක් වින්දෙ අන්‍ය ලෝක සත්ත්වයා වෙනුවෙන්.

ඒ වගේ තමන්ට නිවන් දකින්න හේතු වාසනා තියෙද්දිත්, අනුන්ගෙ සසර දුක් නිවන්න තමන් දුක් වින්ද නම් ඒ මහ බෝසත්වරු පමණයි. ක්‍ෂාන්තිවාදී තාපසතුමා කාලෙ ඒ ජීවිතයේ කිසි වරදක් නොකර, කලාබු රජතුමා විසින් තමන්ගෙ සිරුර වද මල් පෙති ගානට කෑලි කෑලිවලට කපද්දිත්, රජු කෙරෙහි දුෂ්ට චේතනාවක් ඇති කරගන්නෙ නැතිව, දුක් වේදනා ඉවසමින් ක්‍ෂාන්ති පාරමිතාව පිරුවෙ ලෝක සත්ත්වයාගේ ශාන්තිය වෙනුවෙන්.

යෝ මේ හත්ථේච පාදේච
කණ්ණ නාසඤ්ච ඡේදයී
චිරං ජීවතු සෝ රාජා
නහි කුජ්ඣන්ති මාරිස

යමෙක් මගේ අත්, පා, කන් කපා දැම්මේද, එම රජු බොහෝ කලක් ජීවත් වේවා... මා වැන්නෙකුට කෝපවීම සුදුසු නෑ.

දස පාරමිතා ගුණ පුරණ කාලයේ නොයෙක් දුක් ගැහැට විඳිමින් ගුණ දහම් පිරුවෙ අපේ දුක් ගිනි නිවන්න. මේ විදිහට අප්‍රමාණ දුක් විඳල ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමක් ලෝකයට පහල නොවුන නම්, මේ උතුම් ශ්‍රී සද්ධර්මය අද අපට ලැබෙන්න විදිහක් නෑ. ඒ අප්‍රමාණ දුක් විඳීමේ ප්‍රතිඵලයක් නිසා තමයි බුද්ධ සාසනයක් ලොවට විද්‍යමාන වෙලා ලෝකයාට සුගතියට නිවනට යන්න පරිසරය හැදිල තියෙන්නෙ.

සමතිංසත් පාරමී ගුණ පුරල සර්වඥතා ඥානය පහල කරගෙන දහම් දේශනා කළේ, "බුද්ධෝ සෝ භගවා බෝධාය ධම්මං දේසේති" තමන් භවය උදුරල දමල අනික් අයටත් භවය උදුරල දමන්න. "සන්තෝ සෝ භගවා සමථාය ධම්මං දේසේති" කෙලෙස් නමැති "සං" බහා තැබූ තථාගතයන් වහන්සේ අනික් අයටත් කෙලෙස් සමනය සඳහා දහම් දේශනා කළා. "දන්තෝ සෝ භගවා දමතාය ධම්මං දේසේති" ඉන්ද්‍රියන් දමනය කළ ශාන්ති නායකයාණෝ ඉන්ද්‍රියන් දමනය පිණිස දහම් දේශනා කළා. "තිණ්ණෝ සෝ භගවා තරණාය ධම්මං දේසේති" තමන් තුන් භවයෙන් එතෙර වෙලා අනික් අයටත් එතෙර වෙන්න දහම් දේශනා කළා. "පරිනිබ්බුතෝ සෝ භගවා පරිනිබ්බානාය ධම්මං දේසේති" කෙලෙස් පරිනිර්වාණයට පත් සර්වඥයන් වහන්සේ කෙලෙස් ප්‍රහාණය පිණිස ධර්ම දේශනා කළා.

තථාගතයන් වහන්සේ නමක් ලෝකයට පහල වීමේ පරමාර්ථය තමයි මෙන්න මේ කාරණා ටික. අනික් සියලු දේවල් දෙවෙනි, තුන්වෙනි තැනට වැටෙන්නෙ. අග්‍ර කළ යුතු දේ පැත්තකට දමල දෙවෙනි, තුන්වෙනි දේවල් ප්‍රමුඛ කරගත්තොත් සිද්ධ වෙන්නෙ පරියාප්තිය (බුදුන් වහන්සේ වදාළ ධර්ම විනය දෙක), ප්‍රතිපත්තිය (ඒ දෙක අනුව අරි අටඟි මග වැඩීම), ප්‍රතිවේධය (මගඵල) කියන ත්‍රිවිධ සාසනය පරිහානියට පත්වීම. වර්තමානයේ ඒ කිව්ව විදිහටම සිද්ධ වෙමින් පවතින බව නම් නොකියාම බෑ.

"පටිපත්ති මූලකං මහා රාජ ඉමං සත්ථු සාසනං" මහ රජ තථාගත සාසනය ප්‍රතිපත්තිය මුල්කොට පවතී.

මෙයින් අනිකුත් සාසනික කටයුතු නොකළ යුතුයි කියල වරදවා වටහගන්න හොඳ නෑ. වටිනා දේට වටිනාකම දිය යුතුයි.

ගහක් පවතින්න නම් මුල්, පොතු, අතු, කොළ, එලය, අරටුව... ආදී සියලු කොටස් තියෙන්න ඕන. මේ සියල්ලේම එකතුවෙන් තමයි ගහක පැවැත්ම රඳා පවතින්නෙ. ගහේ වටිනා කොටස තමයි අරටුව. වැඩි ප්‍රයෝජනය තියෙන්නෙ අරටුවේ. මෙන්න මේ වගේ තමයි සාසනය නමැති ගහත්. ගහේ අරටුව වගේ තමයි පරියාප්ති, ප්‍රතිපත්ති, ප්‍රතිවේධ කියන තුන. අනික් සියලු මධ්‍යම දහම් අතු, කොළ, පොතු, මුල්, එලය වගෙයි. ගහක පැවැත්මට එහි සියලු කොටස් උපකාර වෙනව වගේ, සාසන පැවැත්මට ප්‍රණීතතර ධර්මය වන චතුරාර්ය සත්‍යය වගේම අනිකුත් සියලු දේත් රැකෙන්න අවශ්‍යයි.

මේ කරුණු ටික මූලික හැඳින්වීමක් විදිහට සඳහන් කරමින්, ඊළඟට සසර ගමනේ බියකරු ස්වභාවය වටහා ගැනීමට හේතුවෙන, සියලු දෙනාම සිතා බැලිය යුතු කරුණු ටිකක් මෙතැන් පටන් විස්තර වෙනවා.

"සංසාරෝගා මහබ්භයා" සසර කියන්නෙ කිසිම පිහිටක් නැති, සරණක් නැති, වේගයෙන් ගහගෙන යන බියජනක මහා සැඩ පහරක්. "අවිජ්ජා නීවරණානං සත්තානං තණ්හා සංයෝජනානං සන්ධාවතං සංසරතං" සත්ත්වයා මේ විදිහට සසර සැරිසරන්නෙ නිකම්ම නෙවෙයි. මොකක්ද ඒකට හේතුව? අවිද්‍යාව නමැති නීවරණයත්, තණ්හාව නමැති සංයෝජනයත් නිසා තමයි දුක් සහිත සසරක් ගොඩනැගෙමින් සසර ගමන් කරන්නෙ.

"අනමතග්ගෝ යං භික්ඛවේ සංසාරෝ පුබ්බා කෝටි න පඤ්ඤායති" **කියන්න බැරි තරම් දිගු සංසාර ගමනේ පූර්ව කෙළවරක් තථාගතයන් වහන්සේවත් පනවල නෑ.** මුල සෙවීමෙන් සසර දුක් නිමා කර ගන්න ඒ තුලින් කිසි උපකාරයක් නොලැබෙන නිසාත්, ඒක තේරුම් ගන්න මනුස්සයින්ට දත්ත නැති නිසාත්, ඒ වගේ දහම් බුදුවරයාණන් වහන්සේලා දේශනා කරන්නෙ නෑ.

සතර අපායට වැටෙමින් අප්‍රමාණ දුක් විඳිමින් යන සසර ගමනේ ස්වභාවය ස. නි. 2 අනමතග්ග සංයුක්තයේ සූත්‍ර ගණනාවකින් විස්තර කරල තියෙනවා. මේක සියලු දෙනාටම නුවණින් හිතල බලන්න හොඳ පණිවිඩයක් දෙනව වගේම, සසර බිය ඇති කරගෙන වහ වහා භවයෙන් මිදෙන්න වීර්ය කරන්න හොඳ ආදර්ශයක් සපයනවා.

මහණෙනි, යම් මනුස්සයෙක් මේ දඹදිව තියෙන සියලු තණ, දඬු, අතු, කොළ කපල, අඟල් හතරෙ කෑලි බවට පත් කරල, මේ මගේ අම්මා, මේ ඒ අම්මගෙ අම්මා... ආදී වශයෙන් මව් පරපුර ගැන කියල කපපු කෑලි එක එක පැත්තකින් තියනවා. ඒ සියලු කෑලි අවසන් වෙනවා. නමුත් එකම සත්ත්වයෙකුගේ මව් පරපුර තවත් එහාට ඇතින් ඈතට තියෙනවා.

මහණෙනි, මේ මහ පොළොවෙ සියලු පස් ඩෙබර ඇට තරමට ගුලි කරල මේ මගේ පියා, මේ ඒ පියාගෙ පියා... ආදී වශයෙන් පිය පරපුර පෙන්වන්න එක එක පස් ගුලි පැත්තකින් තියනවා. මුළු මහ පොළොවෙ සියලු පස් ගුලි අවසන් වෙලා යනවා. ඒත් පිය පරපුර තවත් එහාට ඉතිරි වෙනවා.

මහණෙනි, සසර අපමණ දුක් ගැහැට විඳිමින් ගමන් කරන සත්ත්වයාට සුගති අත්බැවක් වන මනුස්සයෙක් වෙලා ඉපදුනත්, මේ සුගතියක් තුල නමුත් විඳින්න වෙන දුක් ගැහැට අප්‍රමාණයි. **මනාප දේවල්වලින් වෙන් වෙන්න සිද්ධ වෙච්ච අවස්ථාවල, අමනාප දේවල් සමග එකතු වෙන්න සිද්ධ වෙච්ච අවස්ථාවල (පියේහි විප්පයෝගෝ දුක්ඛෝ - අප්පියේහි සම්පයෝගෝ දුක්ඛෝ) අඬල වැළපිලා දුක් වෙච්ච අවස්ථාවල වැගිරුන කඳුළු මුළු සසර පුරාවට එකතු කළොත් සතර මහා සාගරයේ ජලය අඩුයි. ඒ ගලාගෙන ගිය කඳුළු ඊට වැඩියි.**

**මහණෙනි, ඔබලා මේ භව ගමනේ එනකොට මව් මළ දුකට, පියා මළ දුකට, සොහොයුරා සොහොයුරිය මළ දුකට, දුව පුතා මළ දුකට අඬපු කඳුළු වෙන වෙනම ගත්තොත්, මේ සිව් මහා සාගර ජලය අඩුයි, හැඬූ කඳුළු වැඩියි. තමන්ගෙ ඥාති හිතෛෂීන්ට නොයෙක් දුක් කරදර විපත්ති ඇතිවුන අවස්ථාවල, තමන්ගෙ භව භෝග ධන සම්පත් ආදිය සොර සතුරන් පැහැර ගත්ත අවස්ථාවල, ඒවා ගින්නෙන්, ජලයෙන් තවත් නොයෙක් ක්‍රමවලින් විනාස වෙලා යනකොට ඒ දුකෙන් හෙළපු කඳුළු වැඩියි. සතර මහා සාගර ජලය අඩුයි.**

**සසර පැවැත්මේ යන සත්ත්වයා එක් එක් අත්බැව්වල මවගෙන් බීපු කිරි එකතු කළොත්, සිව් මහා සාගරයේ ජලයට වඩා එකම මවගෙන් බීපු කිරි එකතු කරන්න පුළුවන්.**

පාවා නුවර වාසය කරපු තිහක් පමණ භික්ෂු පිරිසක් තථාගතයන් වහන්සේ හමුවෙන්න පැමිණියා. මේ සියලු භික්ෂූන් සංයෝජන සහිත බව දකපු තථාගතයන් වහන්සේ, මේ ආසනවලදිම ඔවුන්ගේ සිත උපාදාන රහිතව ආශ්‍රවවලින් මිදෙන විදිහෙ ධර්මයක් දේශනා කරන්න ඕන කියල මෙහෙම විග්‍රහයක් කළා.

මහණෙනි, මේ සංසාරය බොහෝ දීර්ඝ එකක්. මේ සසර සැරිසරනකොට ඔබලාගේ හිස



කපා දමන අවස්ථාවල ගලාගෙන ගිය රුධිරයම වැඩියි. සිව් මහා සාගරයේ ජලය අඩුයි.

භවයෙන් භවය ඉපදෙමින් මැරෙමින් යන සත්ත්වයා සුගතියක ඉපදෙන්නෙ ඉතා කලාතුරකින්. "චත්තාරෝ අපායා සකගේහ සදිසා" සතර අපාය කියන්නෙ තමන්ගෙ මහ ගෙදර. අන්තඃකල්ප 20 ක් පවතින පෘථිවි තලයෙදි වැඩි කාලයක් ගෙවල තියෙන්නෙ දුගතියේ. පොළොවෙන් නිය පිටට ගත්ත පස් ටිකක් වගේ ඉතාම ස්වල්ප දෙනෙක් විතරයි දුගතියෙන් බේරිලා සුගතිගාමී වෙන්නෙ.

අන්ධ භූතෝ අයං ලෝකෝ
තනු කෙත්ත විපස්සති
සකුන්තෝ ජාල මුත්තෝව
අප්පොස්සග්ගාය ගච්ඡති

(ධම්ම පදය - ලෝක වග්ගය)

පෘතජ්ජන ලෝකයාට ප්‍රඥා ඇස නැති නිසා, මස් ලේ ඇස් තිබුනත් අන්ධ වෙලා ඉන්නෙ. කලාතුරකින් කෙනෙක් තමයි ධර්මය තුලින් ලෝකයේ ඇති තතු වටහා ගන්නෙ. හරියට උපමාවකින් කියනව නම්, වැද්දෙක්ගෙ දැලකට අහුවුන වටුකුරුලු රංචුවකින් කලාතුරකින් එකෙක් බේරිලා යනව වගේ, උපන් සත්ත්වයා අතරින් සුගතියට නිවනට යන්නෙ ඉතා ටික දෙනෙක් විතරයි.

ඉහතින් සඳහන් කළ පාවා නුවරවාසී භික්ෂූන් වහන්සේලාට තථාගතයන් වහන්සේ මේ විදිහටත් පැහැදිලි කරනවා. සසර සැරිසරාගෙන එත්දි හරක් අත්බැව්වල ඉපදුන අවස්ථාවල, ඒ සතා මස් පිණිස බෙල්ල කපත්දි ගලාගෙන ගිය රුධිරය ගැන සළකල බැලුවොත් බොහෝයි. සිව් මහා සාගර ජලය පරදවන්න තරම් බෙලි කැපුම් කාපු අවස්ථාවල රුධිරය වැගිරිලා තියෙනවා.

මේ තමයි හරක් අත්බැව්වල විතරක් ඉපදුන අවස්ථාවල තත්ත්වය. ඒ වගේම එළුවො, කුකුල්ලු, ඌරො, මුවෝ... ආදී වෙනත් තිරිසන් අත්බැව්වල ඉපදුන අවස්ථාවලත් මස් පිණිස මරත්දි ගලාගිය රුධිරය කොච්චරනම් අධික වෙන්න ඇත්ද? සාගර ජලයටවත් උපමා කරන්න බැරි තරම්.

**ඒ වගේම මිනිස් අත්බැව් ලැබූ අවස්ථාවල මං පහරන, ගම් පහරන හොරු වෙලා, පරදාර සේවනවල යෙදිල වැරදිකරුවන් වෙච්ච අවස්ථාවල හිස ගසා දමත්දි ගලපු රුධිරය එකතු කළොත්, සිව් මහා සාගර ජලයට වැඩිය රුධිරය එකතු කරන්න පුළුවන්.**

මහා සාගර ජලය කියන්නෙ කිරල මැනල මෙපමණයි කියල පෙන්වන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒ වගේ මහා ජල කඳ පරදවන්න තරම් බෙලි කැපුම් කාපු අවස්ථාවල රුධිරය ගලා ගියා නම්, අපි සසර කොච්චරනම් වාර ගණන් ඒ අත්බැව්වල ඉපදෙන්න ඕනද? සසර ගමන කොයිතරම් අනතුරුදායකද කියල මේ දේශනා ගැන නුවණින් හිතනකොට වැටහෙනවා.

මේ දේශනාව තථාගතයන් වහන්සේ පාවා නුවර වාසී භික්ෂූන්ට දේශනා කළාම, ඒ තිස් නමම සියලු ආශ්‍රව ප්‍රහීණ කරල අරිහත්වය සාක්ෂාත් කරගත්තා.

දීර්ඝ සසර ගමන ගැන බලත්දි මව නොවූ, පියා නොවූ, සහෝදර සහෝදරියන් නොවූ, දුව පුතා නොවූ, භාර්යාව නොවූ, සතුරු මිතුරු නොවූ කිසිවෙක් මේ සත්ත්ව සමූහයා අතර නෑ. **අතපය නැතිව, ඇස්, කන්, නාසාදී ඉන්ද්‍රියන් හරියට නැතිව, අඳ ගොලු බිහිරි වෙලා, විරූප වෙලා, දිලින්දන් බවට පත් වෙලා උපන් අත්බැව් කොච්චරනම් ලබන්න ඇත්ද? ඒ වගේ කෙනෙක් දකින්න ලැබුනම, අපිත් සසර ගමනෙදි මේ වගේ තත්ත්වවලට පත්වෙලා දුක් වින්ද කියල සිහි කළ යුතු බව ස. නි.** අනමග්ග සංයුක්තයේ <u>දුග්ගත සූත්‍රයේ</u> විස්තර කරල තියෙනවා. ඒ වගේම ඒ පොතේම සුඛිත කියන සූත්‍ර දේශනාව තුලින්, **යහපත් විදිහට ජීවත් වෙන, සැප සම්පත් ඇතිව ජීවත් වෙන අය දැක්කම, අපිත් මේ වගේ ආත්මභාව සසර ගමනෙදි කොච්චරනම් ලබන්න ඇත්ද කියල සිතිය යුතු බවත් සඳහන් කරල තියෙනවා.**

සසර ගමනෙදි සක්විති රජකම් අපි කොච්චර නම් ලබන්න ඇත්ද? තථාගතයන් වහන්සේ දවසක් භික්ෂු සංඝයා සමග වඩිනකොට ගව රැලක් ගමන් කරමින් හිටියා. ඒ වෙලාවෙ ආනන්ද හාමුදුරුවො අහනවා, මේ ගවයන් අතර මිනිස් අත්බැව් ලබපු අය එහෙම ඉන්නවද කියල. ආනන්දය, මිනිස් අත්බැව් නෙවෙයි, සියක් වරක් සක්විති රජකම් කරපු අයත් ඔය ගවයන් අතර ඉන්නවා, මිනිස් ජීවිත ගැන කවර කතාද? මේ තමයි තථාගතයන් වහන්සේගේ පිළිතුර.

මේ විදිහට සක්විති රජකම්, ප්‍රාදේශීය රජකම්, සිටු තනතුරු, මැති ඇමති තනතුරු... ආදී ලෞකික වශයෙන් ලැබිය යුතු යමක් ඇත්ද, ඒ සියලු දේම සසර ගමන තුල සත්ත්වයෙක් ලබල තියෙනවා. ඒවා නොලබපු කෙනෙක් මේ සත්ත්වයන් අතර නෑ. තුන් භවයේ ඉපදිච්ච නැති තැනක් ඇත්නම් ඒ අනාගාමී උතුමන් යන පංච සුද්ධාවාසයේ විතරයි. තිස් එක් තලයේ අනික් හැම අත්බවක්ම ලබල තියෙනවා. ඒකට හේතුව තමයි, ඒ තරම් දිගු සසර ගමනක සත්ත්වයා ගමන් කරල තිබීම.

නමුත් ඒ කිසිවක් අපි කැමති විදිහට තිබිල නෑ. සියලු සංඛාරවල අනිච්ච බව එයින් පසක් කරල දීල තියෙනවා. **මේ වගේ සසරක තවදුරටත් තමන් රැඳිල ඉන්න ඕනද කියල සියලු දෙනාම කල්පනා කරල බලන්න.** සසර ගමනේ ඇත්ත තත්ත්වය අවිද්‍යාවෙන් වැහිල තියෙන නිසා ලෝකය සාරත්වයෙන් අරගෙන ඒවා පවත්වන්න, මම මගේ කරගන්න දිවා රෑ වෙහෙසෙමින්, ඒවාට විරුද්ධ දේවල් එනකොට ගැටෙමින් දුක් වෙමින්, ඒවා රැකගන්න නොයෙක් විදිහට දස අකුසල් කරමින්, ආනන්තරිය පාප කර්මවලට පවා ගොදුරු වෙමින්, ගහ මරා ගනිමින්, නින්දා අපහාස කරමින් නැවතත් ඒවායේ දුක් විපාක විඳිමින් සසරටම වැටෙනවා.

භව ගමනක නිමග්න වෙලා ඉන්න සත්ත්වයා අප්‍රමාණ වාර

ගණන් තිරිසන් අත්බැව්වල ඉපදිලා තියෙනවා. **එකම සත්ත්වයෙක් කොච්චර වාර ගණනක් හරක් අත්බැව් ලබල තියෙනවද කියනව නම්, මේ මහ පොළොවෙ අහවල් තැන කුරේ තිව්වෙ නෑ කියල හිස් තැනක් පෙන්වන්න බෑ කියල ධර්මයේ සඳහන් වෙනවා. කුරුළු අත්බැව්වල උපන් අවස්ථාවෙ, මේ විසාල හිස් අවකාශය තුල අහවල් තැනින් ඉගිලිලා ගියේ නෑ කියල හිස් තැනක් පෙන්වන්න බෑ කියල පෙන්වනවා.** මේ විදිහට සිද්ධ වෙන්න නම් එකම සත්ත්වයෙක් ඒ ඒ තිරිසන් අත්බැව්වල කොච්චරනම් වාර ගණනක් ඉපදෙන්න ඕනද? මේ වගේ සසරක කුමන නැටුම් කෙලිද? කුමන සිනාවන්ද?

**අස්ථි පඤ්ජරයක් සහිතව ඉපදුන අත්බැව්වල එක කල්පයක එකම සත්ත්වයෙක්ගෙ ඇට එකතු කළොත්, වේපුල්ල වේභාර වගේ මහා පර්වතවල උසටත් වඩා ඇට කටු එකතු කරන්න පුළුවන්. ඒ කල්පයේ අස්ථි නැති පණු, ගැඩවිලි වගේ සත්තු වෙලා තව කොච්චරනම් ඉපදෙන්න ඇත්ද?**

බුදු රජාණන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලෙ ඉතාම මාන්නක්කාර "උපසාල්හක" කියල බමුණෙක් හිටියා. මේ බමුණාගෙ මාන්නක්කාරකම කොච්චරද කියනව නම්, ඔහු තමන්ගෙ දරුවන්ට කියල තිබුනා, තමන් මැරුනට පස්සෙ කිසි කෙනෙක් වළ දාල නැති, ඉඳුල් වෙලා නැති තැනක තමන්ගෙ මෘත ශරීරය භූමදාන කරන්න කියල.

තමන්ගෙ පියා මරණයට පත්වුනාට පස්සෙ පියාගෙ අදහස ඉටු කරන්න ඕන නිසා, පියා ජීවත් වෙලා ඉඳෙද්දි වළ දාන්න කියපු තැන සුද්ධ පවිත්‍ර කරමින් හිටියා. මේ කාරණය දිව්‍යසින් දැකපු තථාගතයන් වහන්සේ, ඒ කාරණය නිමිති කරගෙන සසර ගමනක ස්වභාවය පැහැදිලි කරමින් දහමක් දේශනා කරන්න හොඳ අවස්ථාවක් බව දැකල, භික්ෂු සංඝයා සමග එතැනට වැඩියා. ඒ ස්ථානයේ කටයුතු කරමින් හිටපු මියගිය බමුණාගෙ දරුවන්ගෙන් බුදු පියාණන් වහන්සේ අහනවා, ඔබලා ඔතන මොනවද කරන්නෙ කියල.

ස්වාමීනි, අපේ පියතුමා ජීවත් වෙලා ඉන්නකොට කියල තිබුනා, තමන් මැරුනට පස්සෙ කවුරුවත් වළ දාපු නැති තැනක තමන්ගෙ ශරීරය භූමදාන කරන්න කියල, ඒ නිසා තාත්තගෙ අදහස ඉටු කරන්නයි මේ කටයුතු කරමින් ඉන්නෙ කියල උත්තර දුන්නා.

මේ අවස්ථාවෙදි තථාගතයන් වහන්සේ සියලු දෙනාගෙම ඇස් ඇරවන දහම් කතාවක් මේ විදිහට දේශනා කළා. ඔබලගෙ පියා කවුරුවත් වළ දාල නැති තැනක වළ දාන්න කිව්වට, ඔහු බමුණු කුලේම ඉපදිලා උපසාල්හක නමින් විතරක් දාහතර දහස් වාරයක් ඔය ස්ථානයේම වළ දාල තියෙනවා. බමුණු කුලේ නැතිව වෙනත් කුලවල ඉපදිලා උපසාල්හක නමින්ම ඔය ස්ථානයේම කොච්චර නම් වළ දාන්න ඇත්ද? බමුණු කුලේ ඉපදිලා වෙනත් විවිධ නම්වලින් ඔය ස්ථානයේම කී වාරයක් නම් මිහිදන් කරන්න ඇත්ද? තිරිසන් අත්බැව්වල උපන් අවස්ථාවල මරණයට පත්වෙලා, එකම තැන කී වාරයක් පොළොවට පස්වෙන්න ඇත්ද? මේ අනුව කියන්න බැරි තරම් වාර ගණන් එකම තැන පොළොවට පස්වෙලා යන්න ඇත්ද?

සසර ගමන කියන්නෙ මෙන්න මේ වගේ දෙයක් කියල ධර්ම දේශනා කළාම, බොහෝ දෙනෙක් සසර බිය දකිමින් ධර්මාවබෝධය කරගෙන තියෙනවා. ඉතින් මේ වගේ සසර ගමනක් තුල අපි තවත් මොන දේකට මොනව හොයන්නද ප්‍රමාද වෙන්නෙ? "තස්මාහි හෝ කිච්ච මඤ්ඤප්පහාය" **බාහිර වැඩ කටයුතු පැත්තකට දමල ධර්මය අවබෝධ කරගෙන භව ගමනින් එතෙර වෙන්න කටයුතු කරගන්න කියල තථාගතයන් වහන්සේ දේශනා කළේ, මේ වගේ බිහිසුනු සසරක් නැවත නොලැබෙන්න.** මේ කාරණය වර්තමානයේ කීයෙන් කී දෙනෙක් නම් වටහාගෙන කටයුතු කරනවද කියන එක ප්‍රශ්නාර්ථයක්.

සංයුක්ත නිකායේ අනමතග්ග සංයුක්තයේ වේපුල්ල පබ්බත සූත්‍රයේ, තථාගතයන් වහන්සේ මේ වගේ දේශනයක් භික්ෂූන් වහන්සේලාට වදාරනවා. මහණෙනි, පෙර වූ දෙයක් ඔබලාට දේශනා කරමි. මේ මහා භද්‍ර කල්පයේ මුලින්ම පහල වුන කකුසඳ බුදු රජාණන් වහන්සේගෙ කාලයේ මේ වේපුල්ල පර්වතයට නම තිබුණෙ "පාචීනවංශ" කියල. ඒ කාලෙ හිටපු මිනිස්සු "තිවර" කියන නමින් තමයි හඳුන්වල තියෙන්නෙ. ඒ මිනිස්සුන්ට පරමායුස වසර හතළිස් දහසක් වුනා. ඒ අයට පාචිනවංශ පර්වතයට නගින්න දින 4 ක් ගත වුනා. බහින්න දින 4 ක් ගත වුනා. මහණෙනි, බලන්න ඒ පර්වත රාජයාගේ නමත් අතුරුදහන් වුනා. ඒ මිනිස්සුත් මරණයට පත් වුනා. ඒ භාග්‍යවතුන් වහන්සේත් පිරිනිවන් පැවා.

මහණෙනි, ඒ පාචීනවංශ පර්වතය කෝණාගම බුදුරජාණන් වහන්සේගෙ කාලයේ හැඳින්වුනේ වංකක පර්වතය කියල. ඒ කාලෙ මිනිස්සුන්ට "රෝහිතස්සායි" කියල නමක් තිබුනා. ඒ මිනිස්සුන්ගෙ ආයුස අවුරුදු තිස් දහසක්. ඒ කාලෙ තිබුන "වංකක" කියන පර්වතයට නගින්න මිනිස්සුන්ට දින 3 ක් ගත වුනා, බහින්න දින 3 ක් ගත වුනා. අන්තිමට ඒ නමත් අතුරුදන් වුනා. ඒ බුදු රජාණන් වහන්සේත් පිරිනිවන් පැවා. එදා හිටපු මිනිස්සුත් කළුරිය කළා.

කෝණාගම බුදු රජුන්ට පසුව මේ කල්පයේම කාශ්‍යප කියල සර්වඥයන් වහන්සේ නමක් පහල වුනා. ඒ කාලෙ මිනිස්සුන්ගෙ පරමායුස අවුරුදු විසි දහසක්. මහණෙනි, මේ වේපුල්ල පර්වතය එදා හැඳින්වුනේ "සුළුස්ස" කියන නමින්. ඒ කාලෙ මිනිස්සු "සුප්පිය" කියන නමින් තමයි හඳුන්වල තියෙන්නෙ. මේ පර්වතයට නගින්න දින 2 ක්, බහින්න දින 2 ක් ගත වුනා. මහණෙනි, බලන්න කාශ්‍යප බුදු රජාණන් වහන්සේ පිරිනිවන් පැවා. එදා හිටපු මිනිස්සුත් කළුරිය කළා. ඒ පර්වතයේ නමත් අතුරුදන් වුනා.

මහණෙනි, දැන් මේ පර්වතය වේපුල්ල නමින් හඳුන්වන්නෙ. අද ඉන්න මිනිස්සු මාගධක, නැත්නම් මගධවාසීන් කියල හඳුන්වන්නෙ. මේ මිනිස්සුන්ගෙ ආයුස ඉතා ස්වල්පයයි. වැඩිම කාලයක් ජීවත් වෙන කෙනෙක් අවුරුදු 100 ක් හෝ ඊට ටිකක් වැඩියෙන් ජීවත් වෙයි. දැන් මිනිස්සු වේපුල්ල පර්වතයට මොහොතකින් නැගල මොහොතකින් බහිනවා. මේ කාලෙ අරිහත් සම්මා සම්බුදු රජාණන් වහන්සේ මමයි. මට සැරියුත් මුගලන් කියල අග්‍ර වූ භද්‍ර ශ්‍රාවක දෙනමක් ඉන්නවා. මහණෙනි, මේ පර්වත රාජයා අතුරුදහන් වෙන කාලයක් එනවා. මේ මිනිස්සුත් මිය පරලොව යනවා. මමත් පිරිනිවන් පානවා. මහණෙනි, සසර ගමන කියන්නෙ මහා දීර්ඝ බියකරු එකක්. සියලු සංඛාර අනිච්චයි, අද්ධුවයි, ආස්වාස රහිතයි. සියලු සංඛාරවල නොබැඳී නොඇලී මිදීමයි සුදුසු වන්නෙ.

සංයුක්ත නිකායේ 2 වන කාණ්ඩයේ - 280 පිටුවේ එන, පබ්බත සූත්‍රයේ එක්තරා භික්ෂුවක් කල්පය කොතරම් දීර්ඝද කියල තථාගතයන් වහන්සේගෙන් අහනවා. මහණ, කල්පය ඉතා දීර්ඝ එකක්. අවුරුදුවලින් මෙපමණයි කියල කියන්න බෑ. අවුරුදු 100 ක්,

# මළපොතේ අකුරක්වත් නොදත් ගිහියෙක් සෝවාන් වෙන්නෙ කොහොමද?



මේ කාලයේ තියෙන තවත් මතයක් තමයි මේ. "මෙච්චර බණ භාවනා කරන මහ තෙරවරුන් වහන්සේලාටත් මගඵල ලබා ගන්න අමාරු නම්, එක ගාථාවක්වත් ඉගෙන ගෙන විස්තර කරන්න බැරි, මළපොතේ අකුරක්වත් දන්නෙ නැති ගිහියෙක් සෝවාන් වෙන්නෙ කොහොමද?" මේ සමහර අය නගන තර්කයක්. මිනිස්සුන්ගෙ අදහස් ඒ විදිහෙ බව හැබෑවක්. ඒක පුදුම වෙන්න කාරණයක් නෙවෙයි. ලොකු ප්‍රතිඵලය, පිටින් ලොකුවට පෙනෙන කෙනාට දෙන්න හිතීම පෙරත් පැවතුන සිරිතක්.

හැබැයි මේ ලෝක සම්මතයේ මහ තෙරුන් වහන්සේලා කියල කිව්වට, ඇත්තටම **ථෙර කියන්නෙ තිරත්වයට පත් වුනයි කියන අර්ථයෙන්. එහෙම නැත්නම් සසරින් තෙර වුනා, එතෙර වුනා කියන අර්ථයෙන්.** ඒ කියන්නෙ භව ගමන තිර වශයෙන්ම නතර කළ, සසරින් එතෙර වුන අරිහතුන් වහන්සේ. ඉස්සර අරිහතුන් වහන්සේලා හඳුන්වන්න තමයි මහ තෙරුන් වහන්සේ කියන වචනය භාවිතා කළේ. ඊට මෙහා මගඵලවල හිටිය පැවිදි උතුමන් වහන්සේලාත් ඒ ඒ මට්ටමින් තිර භාවයට පත් වෙලා හිටපු නිසා, සසරින් එතෙර වෙලා හිටපු නිසා, උන්වහන්සේලාටත් තෙරුන් වහන්සේ කියල ආමන්ත්‍රණය කළා. නමුත් පසුකාලයක ලෝක සම්මතයේ ජ්‍යෙෂ්ඨත්වය, තත්ත්ව තානාන්තර... ආදිය නිසාත් මහ තෙරුන් වහන්සේ කියල හඳුන්වන්න ගත්තා.

පෙර ලක්දිව සිද්ධ වෙච්ච කතාවක් අටුවා පොතක මේ විදිහට පෙන්වනවා. එක්තරා පින්වතුන් කණ්ඩායමකට, අනුපිළිවෙලින් මහ තෙරවරුන් වහන්සේලා මුලටත්, ක්‍රමයෙන් සාමාන්‍ය අය පසුපසටත් යන

අවුරුදු 1,000 ක්, අවුරුදු 10,000 ක් අවුරුදු 1,000,000 ක් කියල ගණන් කරන්න පුළුවන්කමක් නෑ. ස්වාමීනි, කල්පය තේරුම් ගන්න උපමාවක් දේශනා කරන්න පුළුවන්ද කියල ඇහුවම, තථාගතයන් වහන්සේ මේ විදිහෙ උපමාවකින් පිළිතුරු දෙනවා.

යොදුනක් දිග, යොදුනක් පළල, යොදුනක් උස, සිදුරු නැති, විවර නැති, ඒකඝන මහා ශෛලමය පර්වතයක් තියෙනවා. මනුස්සයෙක් අවුරුදු සීයකට වරක් ඒ පර්වතය කසී සළුවකින් පිරිමදිනවා. මේ ක්‍රමයෙන් කවදා හෝ ඒ පර්වතය ගෙවිල අවසන් වෙනවද, කල්පය ඊටත් වඩා දිගයි.

කල්පයේ ස්වභාවය තවත් උපමාවකින් සංයුක්ත නිකායේ 2 කාණ්ඩයේ 282 පිටුවේ එන සාසප සූත්‍රයේ මේ විදිහට සඳහන් වෙනවා. යොදුනක් දිග, යොදුනක් පළල, යොදුනක් උස යකඩ ප්‍රාකාරවලින් වට කරපු සම්පූර්ණ අබ පුරවපු නුවරක් තියෙනවා. මනුස්සයෙක් අවුරුදු සීයකට වරක් එයින් එක අබ ඇටය බැගින් ඉවත් කරනවා. මේ ක්‍රමයෙන් ඒ අබ සියල්ල කවදා හෝ අවසන් වෙනවද, කල්පය ඊටත් වඩා දිගයි.

සංයුක්ත නිකායේ 2 වන කාණ්ඩයේ 285 පිටුවේ එන ගංගා සූත්‍රයේ, කල්පයේ ස්වභාවය තවත් උපමාවකින් එක්තරා බමුණෙකුට මේ විදිහට විස්තර කරල තියෙනවා. ගංගා නදිය ඇරඹෙන තැනත්, මුහුදට වැටෙන තැනත් අතර තියෙන වැලි මෙච්චරයි කියල ගණන් කරන්න අපහසුයි. සසර ගමනේ ගෙවී ගිය කල්ප බැලුවොත් සීයක්, දහසක්, ලක්ෂයක් කියලවත් ගණන් කරල අවසන් කරන්න බෑ. ඒ නිසා මහණෙනි, මේ දිගු සසර ගමනේ මුලක් පනවන්නෙ නෑ. සියලු සංඛාර අනිච්චයි, අද්ධුවයි, ආස්වාස රහිතයි, සියලු සංඛාර කෙරෙහි නොඇලී නොබැඳී මිදීමයි සුදුසු වන්නෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**

පිළිවෙලකට සකස් කරල දානයක් දෙන්න හිතුනා. භික්ෂූන් වහන්සේලාත් ආරාධනාව අනුව දානයට වැඩම කළා. එක භික්ෂූන් වහන්සේ නමක් අබලන් පාත්‍රයකුත් අරගෙන, ඉරිච්ච දිරා ගිය සිවුරකුත් පෙරවගෙන, ඒ භික්ෂූන් වහන්සේලා අතර මුලින් වැඩ හිටියා. මිනිස්සු ඇවිත්, ඔබ වහන්සේ මොකද ඉදිරියෙන්, යන්න පිටිපස්සට කියල පස්සට යැව්වා. අන්තිමට උන්වහන්සේ පෝලිමේ පිටිපස්සටම යවල හිටෙව්වා.

දානය බෙදන වෙලාව ආරම්භ වුනා. පළමු බත් හැන්ද බෙදන්න හදනකොටම උන්වහන්සේ පොළොව කිමිදගෙන ඉදිරියෙන් ඇවිත් හිට ගත්තා. දානය උන්වහන්සේට බෙදුවා. පොළොව කිමිදගෙනම පසුපස හිටපු තැනින්ම මතුවෙච්ච උන්වහන්සේ, සියල්ලෝම බලා ඉඳෙද්දිම අහසට නැගල වැඩියා. මේ පුදුමය බලාගෙන හිටපු ඒ පිරිස, තමන්ගෙ නොදැනුවත්කමින් භික්ෂූන් තේරීමේ වරද දැකල ලැජ්ජාවට පත් වුනා. අදත් මේ ගැන හිතනව නම්, කිසිම පන්සල් හිමිකමක් හෝ නැතිව, යන්තමට ජීවත් වෙන්න දෙයක් ලබාගෙන දිවි රකින, අප්‍රසිද්ධ භික්ෂූන් වහන්සේලා ගැනත් වැරදි ආකල්ප ඇතිකර නොගත යුතු බව වටහා ගන්න ඕන.

බුදු රජාණන් වහන්සේ වැඩ වසන කාලයේ මාර්ග ඵල ලබන්නෙ නැතිව අපවත් වෙච්ච භික්ෂූන් වහන්සේලා බොහෝ හිටියා. දෙව්දත් තෙරත් මේ භික්ෂූන් වහන්සේලා අතර ඉඳල අන්තිමට ආනන්තරීය පාප කර්මත් කරගෙන අවීචි මහා නරකාදියට ගිය කෙනෙක්. නමුත් අභිඥා බලත් ලබල හිටපු කෙනෙක් බව සඳහන් වෙනවා. එබඳු කිසිම බලයක් නැති මළපොතේ අකුරක් පවා නොදත්, බැල මෙහෙවර කරන්නියක් වෙච්ච විශාකා උපාසිකාවගේ සේවිකාවක් වුන පුන්නා දාසිය සෝතාපන්න ආර්ය ශ්‍රාවිකාවක්.

**කුක්කුටමිත්ත වැද්දගෙ බිරිඳ හත් අවුරුද්දෙදි සෝවාන් වෙච්ච ආර්ය ශ්‍රාවිකාවක්. අම්බපාලි ගණිකාවත් සෝවාන් වෙච්ච ආර්ය ශ්‍රාවිකාවක්. පසුව අරිහත් ඵලයත් සාක්ෂාත් කරගත්තා. කුක්කුටමිත්ත කියන වැද්දත් එක්ක හොරෙන් සිටු මාලිගාවෙන් පැනල ගිහින් විවාහ වෙලා, දරුවන් 10 දෙනෙකුට මව් වෙච්ච ඒ වැදි බිරිඳ අද හිටිය නම් ලෝකයා මොන වගේ කතා කියයිද? මොන වගේ සම්මතයන්ට බැහැගනියිද?**

අසූ අවුරුද්දක් රා බීල ශාක්‍ය කුලයෙනුත් කොන් කරල දාපු පර ශාක්‍යයා කියල හඳුන්වපු සරකානි කියන මහල්ලා, බුදු රජාණන් වහන්සේගෙන් බණ අහල සෝවාන් වෙලා හත් දවසකින් මියගිහින්, තව්තිසා දෙව් ලොව දේව පුත්‍රයෙක් වෙලා උපන් බව දහම් පොත්වල සඳහන් වෙනවා. මේ වගේ අය අද හිටිය නම් මිනිස්සු මොනවා කියයිද?

ඒ වගේම සුනීත, සෝපාක වගේ එදා තිබිච්ච සමාජයේ කුලහීනයන් විදිහට සළකපු, සමාජයෙන් කොන් කරල දාල ඉගෙනීම පවා තහනම් කරල තිබිච්ච අය බුදුන් වහන්සේගෙන් බණ අහල උතුම් නිවන් සාක්ෂාත් කරගත්තෙ මළ පොතේ අකුරක්වත් දැනගෙන නෙවෙයි.

බුදු රජාණන් වහන්සේ ජීවමානව වැඩ හිටපු එක කාලයක, එක්තරා ස්ත්‍රියකගේ මාමා කෙනෙක් වෙනම කුටියක අනගාරිකව වාසය කළා. ඔහුගේ බෑණා ගිහි ගෙදර ගිහි සැප විඳිමින් වාසය කළා. දෙන්නම බෞද්ධයෝ වුනා. මෙයින් එක් කෙනෙක් පළමුව මියගියා. මේ ස්ත්‍රිය බුදු රජාණන් වහන්සේ හමුවෙලා ඔහුගේ උපත ගැන විමසුවා. සකෘදාගාමී සත්ත්ව තෙමේ තව්තිසා දෙව් ලොව ඉපදුනයි කියල උන්වහන්සේ පිළිතුරු දුන්නා.

ටික දවසකින් අනිත් උපාසකතුමත් මියගියා. එතකොටත් ඇය ඔහුගේ උපත පිළිබඳව බුදු රජාණන් වහන්සේගෙන් විමසුවා. සකෘදාගාමී සත්ත්ව තෙමේ තව්තිසා දෙව් ලොව ඉපදුනයි කියල උන්වහන්සේ පිළිතුරු දුන්නා.

එතකොට ඇය කුකුසට පත්වෙලා, කාමභෝගීව හිටපු ගිහියාටත්, බ්‍රහ්මචාරීව හිටපු අයටත් එකම ආකාර උපතක් සිද්ධ වෙන්නෙ කොහොමද කියල ආනන්ද හාමුදුරුවන්ගෙන් විමසා සිටියා. උන්වහන්සේ බුදු රජාණන් වහන්සේගෙන් ඒ පිළිබඳව විමසුවම, කිසිම ශ්‍රමණ බ්‍රාහ්මණ මාර බ්‍රහ්ම ආදීන්ටවත් නිශ්චයකට බහින්න බැරි ගති ස්වභාවයක් තථාගත නුවණට ගෝචර වෙනව මිසක්, මෝඩ ගැහැණියක් කොහොම නිශ්චය කරන්නද, ඇය උපවාද කර ගනියි කියල දේශනා කළා.

**යමෙක් තමන්ට වටහාගන්න බැරි මෙබඳු ප්‍රශ්නවලදී, මගඵල ලාභියෙකුට එහෙම නෙවෙයි කියල කීමත්, මගඵල ලාභී නොවන කෙනෙකුට එහෙම මගඵල ලාභියෙක් කියල කීමත් නිසා වැරදි තීරණ ඇතිවීමෙන් ආර්ය උපවාද සිද්ධ වෙන්න පුළුවන්. ඒ නිසා පුද්ගලත්වයෙන් අරගෙන කෙනෙක් විවේචනය නොකර සිටීම හැම අතින්ම නුවණට හුරුයි.**

මේ හේතු ඇත්නම් මේ ඵලය වේ, මේ හේතු නැත්නම් මේ ඵලය නොවේ කියල දහම් මගම ප්‍රකාශ කිරීම නැණවතුන්ගේ සිරිතක්. ඒකෙන් අවැඩක් වෙන්නෙත් නෑ. මුළාවකට වැටෙන්නෙත් නෑ. මාර්ගය මෙනෙහි කළ මොහොතක නිසා හැම කාලයේම යහපතක්ම සිද්ධ වෙනවා.

දැන් මෙහෙමත් හිතන්න. ගහ සරු නම්, පොහොර තියෙනව නම්, පස සරු නම්, කෘමි උවදුරු රෝග නැත්නම්, දේශගුණය කාලගුණය යහපත් නම්, කරල සරු වෙනවා. නිසරු බීජ නම්, පොහොර නැත්නම්, පස නිසරු නම්, කෘමි උවදුරු සහිත නම්, රෝග සහිත නම්, දේශගුණය කාලගුණය ආදිය විපරීත නම්, කරල බොල් වෙනවා. නැත්නම් පූදින්නෙ නැතිව යනවා. එහෙමත් නැත්නම් කරල කුඩා වෙනවා. එහෙම නොවුනොත්, ගහට හිමි කාලය ගෙවිල ගිහින් ගහ මැරිල යනවා. මේ වගේ ජීවිත කාලයකදීත් මාර්ග ඵල ලබන්න පුළුවන්. උසස් ඵලයක් ලබන්නත් පුළුවන්. ඵලයක් නොලබා ආයු කාලය ගෙවිල ගියාද, ඒ ජීවිතය මරණයෙන් කෙළවර වෙනවා. මතු භව උපතත් වෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරත්නාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# ආහාර නිරෝධයෙන් නිවන් දකින හැටි...

"සබ්බේ සත්තා ආහාරට්ඨිතිකා - සියලු සත්ත්වයෝ ආහාරය හේතුවෙන් පිහිටා සිටිති." සියලු සත්ත්වයෝ කිච්චම පියවි ඇහැට පෙනෙන ඝන ශරීර වගේම, පියවි ඇහැට නොපෙනෙන අරූප ලෝකවල ඉන්න බ්‍රහ්ම දේවතාවොත්, ගන්ධබ්බ අවස්ථාවල ඉන්න සියුම් ශරීර තියෙන සත්වයොත් අයිතියි. දහමෙ සඳහන් වෙන්නෙ, පංචස්කන්ධයට ඇලුම් කරන නිසා "සත්ව" කියනව කියල. බුදු, පසේ බුදු, මහ රහත් උතුමන් හැර අනෙක් සියල්ලෝම පංචස්කන්ධයට ඇලුම් කරනවා. ආර්ය මාර්ගයට පත්වෙලා, පංචස්කන්ධයේ ආදීනව දැනගෙන, ඒ කෙරෙහි නොඇල්මක්, මිදීමක් උදෙසා කටයුතු කරන ආර්ය පුද්ගලයන් (සේකයන්) තුළත් යම් පමණකට පංචස්කන්ධය කෙරෙහි ඇල්මක් තියෙනවා.

උපන් සත්වයන්ගේ පැවැත්ම පිණිසත්, උපදින්නා වූ සත්වයින්ට අනුග්‍රහ පිණිසත් ආහාර වර්ග හතරක් තියෙන බව බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. "දළ වූ හෝ සියුම් වූ හෝ කබලිංකාර ආහාරය, ස්පර්ශය දෙවැන්නය, මනෝ සංචේතනා තුන් වැන්නය, විඤ්ඤාණය සිව් වැන්නය. මේ ආහාරය තෘෂ්ණා නිදාන කොට, තෘෂ්ණාව හේතු කොට, තෘෂ්ණාව ජාති කොට, තෘෂ්ණාව ප්‍රභව කොට ඇත්තාහ. මේ තෘෂ්ණාව කුමක් නිදාන කොට, කුමක් හේතුකොට, කුමක් ජාති කොට, කුමක් ප්‍රභව කොට ඇත්තේද?..." ආදී වශයෙන් මේ විදිහට විග්‍රහයක් සං. නි. (2) 21 වෙනි පිටුවේ එන ආහාර සූත්‍රයේ සඳහන් වෙනවා.

කබලිංකාර ආහාර කිච්චම, මතුපිටින් පෙනෙන, ඒ වගේම අද පෙන්වල තියෙන අර්ථය තමයි, කැබලි කරන ලද ආහාර කියන එක. නමුත් බුද්ධ දේශනාවල මතුපිටින් පෙනෙන දේට වඩා ගැඹුරු අරුත් තියෙනවා. වචනවල නිරුක්තිය දැන ගන්න, ඒ වචනයෙන් කියවෙන අදහස තේරුම් ගන්න, නිරුක්ති පටිසම්භිදා ඤාණය කියන බුද්ධ ඤාණය හරිම වැදගත්. ෂඩ් අසාධාරණ ඤාණ කියල ලොව්තුරා බුදුන් වහන්සේ නමකට විතරක් පිහිටන විශේෂ ඤාණ හයක් තියෙනවා. එතකොට තෙසැත්තෑ ඤාණවලින් ඉතිරි 67 ශ්‍රාවක මට්ටමින් ශ්‍රාවකයන්ටත් ගෝචර බව පැහැදිලියි. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේටත් මේ නිරුක්ති පටිසම්භිදා ඤාණය තිබ්ච්ච නිසා අපිට මේ ධර්මය අවබෝධ කරගන්න පහසු වුනා.

කය බලි කරන අර්ථයෙන් **කබලිංකාර ආහාර කියනවා. ඥාති බලි, ප්‍රේත බලි, දේවතා බලි... ආදී වශයෙන් ඒ ඒ අයට දෙන ආහාර පානවලට "බලි" කියනවා.** බලි හදනව කියල හදන මැටි මූර්තිවල යක්ෂ රූපයක් හැදුවත්, දේව රූපයක් හැදුවත්, ඒක හොඳට පිරුණු විදිහට අත පය තියෙන්නයි හදන්නෙ. කය බලි කරනව කියන්නෙ ශරීරය පුෂ්ටිමත් කරගන්න අදහසින් ආහාර ගන්න එකට. රස විඳ විඳ රස තණ්හාවෙන් ආහාර ගන්න අය, දිවට දැනෙන රස ගැන විතරක් නෙවෙයි බලන්නෙ. මේවා පෝෂණයෙන් ඉහළයි, විටමින් තියෙනවා, ඥාන ශක්තිය දියුණු කරනවා, ඉගෙන ගන්න ළමයින්ට මතක ශක්තිය වැඩෙනවා... ආදී වශයෙන් කාය වර්ධනයට අවශ්‍ය හැම දෙයක් ගැනම සලකනවා. කය පෝෂණය කිරීම ගැන ඉහළින් වර්ණනා කරන ගතියෙන් තමයි ආහාර ගන්නෙ. මේ කය හොඳයි, වටිනවා කියන හැඟීම තුළ ඉඳගෙන ගන්න ආහාරවලට කබලිංකාර ආහාර කියනවා. මේ වටිනාකම පිළිබඳ අගය කරන කල්, මතු මතුත් මෙබඳු කයක් ලැබෙන එකෙන් මිදෙන්න බෑ. මේ රස තණ්හාව නිසා භයානක දුක් සහිත සසර ගමනින් මිදෙන්න බෑ.

මේ කයට කැමැත්තෙන් බැඳෙන නිසා ඒ වගේ කයක් මතු මතුත් ලබන්න සිද්ධ වෙනවා. නමුත් මේ සසර දුකෙන් මිදෙන ප්‍රතිපදාව ගෙනියන්න හැර, වෙනත් දේකට නම් මේ කය පරිහරණය කරන්න සුදුසු නෑ කියන කාරණය ධර්මාවබෝධය ලැබුණට පස්සෙ වැටහෙනවා. ඒ නිසා ආහාර ගන්න කොට, අපි දන්න වචනවලින් මේ විදිහට ප්‍රත්‍යවේක්ෂා කරන්න පුළුවන්. **"මේ ආහාරය රස පිණිස නෙවෙයි, අසීමිතව බඩ පුරවා ගන්න නෙවෙයි, හැඩ වැඩ වෙන්න, ලස්සන වෙන්න, අඩු තැන් පුරවන්න නෙවෙයි, ක්‍රීඩා කෙළි සෙල්ලම් පිණිස නෙවෙයි, ආහාර නොගැනීමෙන් ඇතිවන ක්ලාන්ත කැරකිලි වේදනා දුරු කරගෙන, මේ ආර්ය මාර්ගය පූර්ණ කරගැනීම පිණිසත්, පහසු විහරණය සඳහාත්, මේ ආහාරය පමණ දැන පරිභෝග කරමි."** කබලිංකාර ආහාර නිරෝධයට බුදුන් වහන්සේ දේශනා කළ පාළි පාඨය මහ පිරිත් පොතෙන් අවශ්‍ය අයට බලාගන්න පුළුවන්. ඒ විතරක් නෙවෙයි, සං. නි. (2) 152 පිටුවේ සඳහන් වෙන පුත්ත මාංස සූත්‍ර දේශනාවෙන්, බුදුන් වහන්සේ මේ ආහාරය ගැන හිතන්න ඕන විදිහ උපමාවකින් මේ විදිහට දේශනා කරල තියෙනවා.

අම්ම තාත්ත දෙන්නෙක් තමන්ගෙ එකම පුතත් එක්ක කාන්තාරයකින් එතෙර වෙන්න යනකොට, අතර මගදි අරගෙන ගිය ආහාර පාන

සියල්ල ඉවර වෙනවා. කෑම බීම නැතිව දරුවා දැනටමත් අසාධ්‍ය තත්ත්වයක ඉන්න නිසා, දරුව මරල ඒ මස් ආහාරයට අරගෙන අම්මයි තාත්තයි කාන්තාරයෙන් එතෙර වෙන්න තීරණය කරනවා. දැන් ඒ මව් පිය දෙන්නා ඒ පුත්‍ර මාංශය ආහාරයට ගන්නෙ යම් විදිහක හිතකින්ද, අපේ එකම පුතා නැතිවුනා කියල වැලපෙනවා, ඒ වුනාට එතෙර වෙන්න ඕන නිසා ඒ මස් ආහාරයට ගන්නවා. ඒ මාංෂයට රස තණ්හාවකින්, ඇලීමකින් ගන්නව නෙවෙයි. නිවන් දකින්න බලාපොරොත්තු වෙන ආර්ය ශ්‍රාවකයත් ආහාරය ගැන හිතන්න ඕන ඒ විදිහට. රස විඳින්න හිතක් එනකොට, ඒක අසාරයි කියල මෙනෙහි කරන්න ඕන. ඒ වගේම ආහාරයේ මාත්‍රාව කියන්නෙත් ඒ මාංශය ගන්න ඕන ප්‍රමාණය. ජීවත් වෙන්න ඕන නිසයි ඒ ආහාරය ගන්නෙ කියන කාරණයට අදාළ ආර්ය ශ්‍රාවකයාගේ ආහාරයේ මාත්‍රාව, අවශ්‍ය ප්‍රමාණය, ඒ විදිහට ගන්න ඕන කියලයි බුදුන් වහන්සේ ඒ උපමාවෙන් පෙන්වල තියෙන්නෙ.

ආහාර ප්‍රත්‍යවේක්ෂාව ගැන මෙහෙමත් තේරුම් ගන්න පුළුවන්. **කෙනෙකුට කුසගිනි එනවා. ඒ නිසා ආහාර ගන්න වෙනවා. ආහාර ගත්තට කුසගිනි ඉවරයි කියල එකක් නෑ, පැය කීපයකින් නැවතත් කුසගිනි එනවා. මේ චක්‍රය දිගින් දිගටම සිද්ධ කරන එකේ හරයක් තියෙනවද? ගහන්න ගහන්න වඳින්නෙත් මෝඩයා, වඳින්න වඳින්න ගහන්නෙත් මෝඩයා කිව්ව වගේ, බඩගිනි නිවන්න නිවන්න බඩගින්න අපට ගහනවා වගේ, අපව පෙළනව නම්, දිගටම මේ චක්‍රය ගෙනියන එක මෝඩ කමක් නෙවෙයිද? එහෙනම් ඇයි මෙහෙම බඩගිනි වෙන්නෙ කියන කාරණය විමසල බලන්න ඕන.**

බඩගිනියි කිව්වෙ මනස, ආහාර දුන්නෙ කුසට. කොච්චර නීරස ආහාරයක් වුනත් අපි හිතන්නෙ, බඩගිනි නිවෙන්න ගන්නව කියල නෙවෙයි. අපොයි මේව රහ නෑ, ලුණු ඇඹුල් මදි... ආදී වශයෙන් අඩු පාඩු ගැනයි හිතන්නෙ. කුසගිනි නිවෙන්න නම් මනස ආහාරය ගැන දැනුවත් වෙන්න ඕන. ආහාරය කියන්නෙ ජරාවට, වැහැරීමට, විනාසයට පත්වෙන දෙයක්. ශරීරය කියන්නෙත් ජරාවට, වැහැරීමට, විනාසයට පත්වෙන දෙයක්. ජරාවට, වැහැරීමට, විනාසයට පත්වෙන ආහාරයකින් එබඳුම කයක් ගොඩනගනව මිසක්, නොදිරන, නොවැහැරෙන, විනාස නොවෙන කයක් ගොඩ නැගෙන්නෙ නෑ. යළි යළිත් ආස්වාද විඳින්න එබඳු ශරීරයක් පතාගෙන සංඛාර ගොඩනගන, හරයක් නැති වැඩ පිළිවෙල අත් හැරල, ලැබිච්ච මේ කයට කරන්න දෙයක් නැති නිසා, පවත්වගෙන යන්න මේ ආහාරය පරිභෝග කරනවා කියල, හේතු කාරණා දැනගෙන ප්‍රත්‍යවේක්ෂා කරන්න පුළුවන්.

ආහාර කියන වචනයේ නිරුක්තියේම මේ ටික තියෙනවා. හරය කියන්නෙ වැදගත් දේ. හරවත් වැඩ කියන්නෙ වටිනා අගයක් ඇති වැඩ. හරයක් නැති තැන අ + හර - අහර. (මේ වගේ "නැත" කියන අර්ථය දෙන්න "අ" යන්න මුලට යෙදිච්ච තැනක් ධජග්ග සූත්‍ර දේශනාවෙත් තියෙනවා. "තථාගතෝ භික්ඛවේ අරහං සම්මා සම්බුද්ධෝ වීත රාගෝ වීත දෝසෝ වීත මෝහෝ අභිරූ අඡම්භී අනුත්‍රාසී අපලායතී..." බුදු පියාණන් වහන්සේ අ + භිරූ - භය නෑ, අ + ඡම්භී - තැති ගන්නෙ නෑ, අ + පලායති - පලා යන්නෙ නෑ.

මේ විදිහට පද වෙන් කරල නිරුක්ති පෙන්නුවම, සමහර අය වැරදි විදිහට අවබෝධ කරගත්ත අවස්ථාවකුත් අහන්න ලැබුනා. ඒ තමයි "අභූත කියන්නෙ බොරු, ඒ නිසා භූත කියන්නෙ සත්‍යය..." කියල. සිද්ධ නොවෙච්ච දෙයක් සිද්ධ වුනා කිව්වොත් ඒක අභූතයක්. සිද්ධ වෙච්ච යමක් සිද්ධ වුනේ නෑ කිව්වොත් ඒකත් අභූතයක්. සතර මහා භූත කියන්නෙ, සත්වයා මනසින් ගොඩනගා ගත්ත ගති හතරක සනීභවන අවස්ථා මිසක්, සත්‍ය වශයෙන් ඇති දේවල් හැටියට පිළිගන්න සුදුසු දේවල් නෙවෙයි. මේ පිළිබඳ ගැඹුරු විස්තරයක් හෙළ බොදු පියුම 4, 5, 6 කලාපවල පළ කරල තියෙනවා.

මේ විදිහට ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගන්න ආර්ය ශ්‍රාවකයාට ලැබෙන ඵලය ගැන බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. "කබලිංකාර ආහාරයෙහි රාගය නැත්තේ නම්, ඇල්ම නැත්තේ නම්, තෘෂ්ණාව නැත්තේ නම්, එහි විඤ්ඤාණය නොපිහිටියේත්, නොවැඩුනේත් නම්, එහි නාම රූප බැස ගැන්ම නොවන්නේය. නාම රූපයේ බැස ගැන්ම නැත්නම් එහි සංඛාරයන්ගේ වැඩීමක් නැත. සංඛාරයන්ගේ වැඩීම නැති තැන මතු ඉපදීම නැත. මතු ජාති, ජරා, මරණ නැත. ශෝක රහිතය, පීඩා රහිතය, දැඩි ආයාස රහිතය." (සං.නි. 2-158 පිටුව, අත්ථි රාග සූත්‍රය) ඒ නිසා උත්සාහය වීර්ය තියෙන කෙනෙකුට කබලිංකාර ආහාර නිරෝධය නිවන් දකින වැඩ පිළිවෙලක් වෙනවා. අනන්ත සසරෙ රස විඳ විඳ ආහාර ගන්න පුරුදු වෙලා ඉන්න ලෝකයාට, රස විඳීමෙන් ඈත් වෙන්න ලොකු උත්සාහයක්, වීර්යක් වගේම සතියත් අවශ්‍යයි.

මනුස්ස, තිරිසන් ගතිවල ඉන්න සත්වයින් දළ ආහාර (සනීභවන ආහාර) ගන්නවා. භූමාටු දේව, අමනුස්ස, ඥාති ප්‍රේත... ආදී පිරිසට දේවතා බලි, ප්‍රේත බලි, ඥාති බලි ආදියෙන් ආහාරවල කිරණ මට්ටමේ කොටස ගන්න පුළුවන්. ඉහල දේව කොට්ඨාසවලට, පුණ්‍ය ඍද්ධියකින් මවල දෙන්න හැකියාවක් තියෙන කෙනෙකුට මවල දෙන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ අයට මවා ගන්න, මේ ලෝකෙ තියෙන දේවල් කැප කරල දෙන්න පුළුවන්. කබලිංකාර ආහාරවලින් "සියුම් වූ හෝ" කියල අදහස් වෙන්නෙ ඒ වගේ ආහාර. ඉහල දේව තලවල ඉන්න දෙවියන්ට ස්වභාවිකව මැවිල තියෙන ආහාරයට අමෘතය කියල කියනවා.

දෙවැන්න තමයි, ස්පර්ශ ආහාර. ආහාර කිව්වම අපිට එක වරම වැටහෙන්නෙ කන බොන ආහාරයක් කියල. ස්පර්ශය කියන්නෙ කන දෙයක් නෙවෙයි. එහෙනම් ඒකට ස්පර්ශ ආහාර කිව්වෙ ඇයි? ආහාරයට පද නිරුක්තියෙන් එන තේරුම වන "හරයක් නැති" කියන අදහස ගත්තම, ස්පර්ශය කියන්නෙ හරයක් නැති වැඩක් කියන එක හොඳින් පැහැදිලි වෙනවා. මතු පිටින් පෙනෙන අරුතට වඩා ගැඹුරු අරුතක් දහම් පදවල තියෙනව කිව්වෙ ඒකයි.

තෘෂ්ණාව නිදාන කොට, තෘෂ්ණාව හේතු කොට, තෘෂ්ණාව ජාති කොට, තෘෂ්ණාව ප්‍රභව කොට... කියල ආහාර ගැන කාරණා හතරක් පෙන්වනවා. හේතු කිව්වෙ හයකින් එතු තියන අදහස. ඇස රූප එක්ක ස්පර්ශ වෙන්නෙ ලෝභ, ද්වේශ, මෝහ, අලෝභ, අද්වේශ, අමෝහ කියන හයෙන් එකට එකතු වෙලා නම්, තණ්හා වෙලා නම්, ඇස හේතුවක් හදනවා මතු ඇසක් ගොඩනැගෙන්න. මේ විදිහට කන ශබ්ද එක්ක හේතු හදනවා, නාසය ගන්ධ එක්ක හේතු හදනවා, දිව රසත් එක්ක, කය පොට්ඨබ්බ එක්ක, මන ධර්ම එක්ක හේතු හදනවා මතු කනක්, නාසයක්, දිවක්, කයක්, මනසක් ගොඩනගන්න.

ආහාරවලින් කරන්නෙ පැවැත්මක් ගොඩනගන එක. කාමයට තණ්හා වෙලා හැදෙන්නෙ කාම ජාතියේ ඇහැක්, කාම ලෝකවලට අයිති ඇහැක්. ද්වේශය එක්ක බැඳුන




නම්, යක්ෂ අත්බැවකට, කොටියා වගේ රුදුරු තිරිසන් අත්බැවකට අයිති එකක්. මේ විදිහට ස්පර්ශ ආහාරය තණ්හාව ජාති කොට තියෙනවා කියන කාරණයත් පැහැදිලියි. "ප්‍ර" කියන්නෙ නැවත, "භව" කියන්නෙ ජාතියක් පටිච්ච සමුප්පන්නව හැදෙන ප්‍රත්‍යය. නැවත භවයක් සකස් වෙන්න මේ විදිහට ස්පර්ශ ආහාර තණ්හා ප්‍රභව කොට පවතිනවා. සත්වයන් වාසය කරන තිස් එක් තලයේ උපදින්නෙ ලෝභ, ද්වේශ, මෝහ, අලෝභ, අද්වේශ, අමෝහ කියන කාරණා හය එක්ක විවිධ විදිහට තණ්හා වීමෙන් නිසා, ස්පර්ශ ආහාරය සසර ගොඩ නගනවා. මේ තණ්හාව කුමක් නිදාන කොට, කුමක් හේතු කොට, කුමක් ජාති කොට, කුමක් ප්‍රභව කොට ඇත්තේද?

මේ තණ්හාව වේදනාව නිදාන කොට, වේදනාව හේතු කොට, වේදනාව ජාති කොට, වේදනාව ප්‍රභව කොට ඇත්තේය... වේදනාව ස්පර්ශය නිදාන කොට, ස්පර්ශය හේතු කොට, ස්පර්ශය ජාති කොට, ස්පර්ශය ප්‍රභව කොට ඇත්තේය... ස්පර්ශය සළායතන නිදාන කොට, සළායතන හේතු කොට, සළායතන ජාති කොට, සළායතන ප්‍රභව කොට ඇත්තේය. (ආහාර සූත්‍රය) ස්පර්ශයට හේතුව සළායතන කියන කාරණය මේ අනුව තේරුම් අරගෙන සළායතන නිරෝධ කළා නම් ස්පර්ශ නිරෝධයි.

සළායතන කියන්නෙ මොනවද? ඇහැට රූපයක් ස්පර්ශ වුනාම මනස ඒ රූපය හඳුන ගන්නවා. හඳුනගත්ත රූපය මන වඩන එකක් නම්, ඒ රූපයත් එක්ක ඇලෙනවා. ඇලෙනවා කියන්නෙ තණ්හා වුනා, තැන්හි හා වුනා. තණ්හා වෙලා නිකං ඉන්නෙ නෑ, ආස්වාදයක් විඳින්න බලාපොරොත්තුවක් ගොඩනගා ගන්නවා. බලාපොරොත්තුව නිසා ආස්වාද විඳින කර්ම සඳහා හිත් ගොඩනැගෙනවා. මෙන්න මේ හිත් ගොඩනගන වැඩ පිළිවෙල, සංඛාර කරනවා කියල හඳුන්වන්න පුළුවන්. මෙතනදි මතු ඇසක් උපදින්න හේතුවක් සකස් වෙන නිසා, ඇස භවයන් ගොඩනගන ආයතනයක් වෙනවා. මේ විදිහට ඇස, කන, නාසය, දිව, කය කියන පංච ඉන්ද්‍රියන් මුල් කරගෙන මනස හයවෙනි ස්ථානය කරගෙන ස්පර්ශ අරමුණු ලෝභ, ද්වේශ... ආදී මුලින් පෙන්වපු කාරණා හයත් එක්ක එකතු වෙලා, භවයන් ගොඩනගන්න සංඛාර (අභි සංඛාර) නිපදවන ආයතන හයක් වෙනවා. සළායතන කිච්චෙ මේ ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන්, අරමුණු හඳුනාගැනීම ඉක්මවල, මතු භවයක් ගොඩනැගෙන ආකාරයට කටයුතු කරන ආයතන බවට පත්වීම. **සළායතන නිරෝධ කරන්න නම් ඉන්ද්‍රියන් හය ඒ විදිහටම පවතින්න හැරල, ස්පර්ශ අරමුණු එක්ක ආස්වාද විඳීමේ බලාපොරොත්තු අතහරින්න ඕන. ජීවත් වෙන කල් ජීවිතය පවත්වන්න ඉන්ද්‍රියන් අවශ්‍යයි. ඡන්ද රාගය තමයි අතහරින්නෙ.**

මේ කය හදාගෙන තියෙන්නෙ ආස්වාද විඳින්න. අනන්ත සසරෙ පුරුදු වෙලා තියෙන්නෙ ඒ සඳහා. කුසගිනි ගැන මුලින් පෙන්වපු විදිහට මෙතැනදිත් නුවණින් කල්පනා කරල බලන්න වෙනවා. **ඇසට මන වඩන රූප කොච්චරක් නම් ස්පර්ශ වෙලා ඇත්ද? ඒවායින් ආස්වාද කොච්චරක් නම් විඳල ඇත්ද? ඒත්, දැන් රූප බැලුව ඇති කියල සෑහීමකට පත්වෙලා තියෙනවද? කන, නාසය ආදී අනෙක් ඉන්ද්‍රියන් පිළිබඳවත් මේ වගේ කවදාවත් සෑහීමකට පත්වීමක් වෙලා නෑ.** අපිට රසවත් ආහාර ඇති තරම් කන්න අවස්ථාවක් ලැබුනොත්, ඇති තරම් කෑව කියල හිතමු. ආස්වාදය අද පූර්ණ වේවා කියල තවත් කන්න දෙනවා. දැන් ඒ ආහාරයම ඉස්මුරුත්තාව කියන අපහසුතාවය ඇති කරනවා මිසක් ආස්වාදයක් දෙනවද? කැමතිම සිංදුවක් අහනවා. ආස්වාදය පිරෙන්න කියල මුළු දවසෙම වෙන මුකුත් අහන්නෙ නැතුව ඒ සිංදුවම අහනවා. දහ දොළොස් වතාවක් අහන කොට නැගිටල යන්න හිතෙනවා. එහෙම බෑ අද ආස්වාදය පූර්ණ වෙන්න ඕන කියල තව දුරටත් ඒ මිහිරි සිංදුවම අහන්න ගත්තොත්, හිසේ කැක්කුමින් ඔබව පෙළනවා. හොඳයි, වටිනවා කියල හිතාගෙන හිටිය ආස්වාදය දුන්න දේම දැන් දුක දෙනවා.

එහෙනම් දැන් වැටහෙන්න ඕන, ආස්වාදය කියන්නෙ මර උගුලක්, අපිව සසර ගමනේ දුකට අසහනයට පත් කරන මායාවක් කියන කාරණය. ආස්වාද මාත්‍රයක් තියෙනවා. මොහොතකින් ස්පර්ශ මාත්‍රය ගෙවිල යනකොට ආස්වාද මාත්‍රයත් ගෙවිල යනවා. ගෙවිල අතීතයට ගිය ආස්වාද මාත්‍රය යළි යළිත් විඳින්න අල්ල ගන්න කරන උත්සාහය, වීර්ය නිසා දාහයක් ඇති වෙනවා. ඒ දාහය නිවා ගන්න මතු මතුත් ඒ ආස්වාදය බලාපොරොත්තු වෙනවා. බලාපොරොත්තුව කියන්නෙ හිත නෙවෙයි. බලාපොරොත්තුව හේතුවෙන් කාමාස්වාද විඳින්න උවමනා කරන කර්ම සඳහා හිත් ගොඩනැගෙනවා. ඒ ඒ කර්ම හේතුවෙන් මතු භවයක් සකස් වෙලා සසර දුක් විඳිනවා. සළායතන නිරෝධ කරන්නෙ කොහොමද? ඇස ආයතනයක් වුනේ සංඛාර රැස් කරන නිසා. සංඛාර රැස් කළේ ආස්වාද විඳින්න. ආස්වාදය කියන්නෙ හරයක් නොදී ගෙවිල වැනසිලා යන මර උගුලක් කියල දැන ගත්තා. ඒ නිසා ස්පර්ශ අරමුණක් ආවම රාග, ද්වේශ, මෝහ, අලෝභ, අද්වේශ, අමෝහ කියන හේතු එක්ක කැමැත්තෙන් බැඳෙන්නෙ නැතුව, අවිද්‍යා සහගත සංස්පර්ශ කරන්නෙ නැතුව, හිත කය වචනය සංවර කරගන්න ඕන.

බුදුන් වහන්සේ ස්පර්ශ ආහාරය කෙසේ දැනගත යුතුද කියල උපමාවකින් පෙන්වනවා. උදුළ සම් ඇති (හම ඉවත් කළ) දෙනක් බිත්තියක් ඇසුරු කොට සිටින්නී නම්, ඒ බිත්තිය ඇසුරේ වාසය කරන වෙනත් සත්තු ඒ දෙනව කනවා. ඇය රුකක් ඇසුරු කොට සිටින්නී නම්, ඒ රුක ඇසුරේ වාසය කරන සත්තු ඇයව කනවා. ඇය ජලය ඇසුරේ සිටින්නී නම්, ජලයේ වාසය කරන සත්තු ඇයව කනවා. ඇය අහස ඇසුරේ සිටින්නී නම්,

අහසේ සැරි සරන සත්තු ඇයව කනවා. හම ඉවත් කළ ඒ දෙන යමක් ඇසුරේ සිටී නම්, ඒ ඒ තැන සිටින සත්තු ඇයව කනවා. ස්පර්ශ ආහාරයත් මේ වගේ, ඒ ඒ ඉන්ද්‍රියට ස්පර්ශ වුන අරමුණේ තියෙන ආදීනවයන්ගෙන් සත්වයා විපතට පත්වෙනවා.

"ස්පර්ශ ආහාරයෙහි රාගය නැත්තේ නම්, ඇල්ම නැත්තේ නම්, තණ්හාව නැත්තේ නම්, එහි විඤ්ඤාණය නොපිහිටියේද නොවැඩුනේද වේ. විඤ්ඤාණය නොපිහිටියේත් නොවැඩුනේත් වේද, එහි නාම රූප බැසගැන්ම නොවන්නේය. නාම රූපයේ බැසගැන්ම නැත්නම් එහි සංඛාරයන්ගේ වැඩීමක් නැත. සංඛාරයන්ගේ වැඩීම නැති තැන මතු ඉපදීම නැත. මතු ජාති, ජරා, මරණ නැත. ශෝක රහිතය, පීඩා රහිතය, දැඩි ආයාස රහිතය." (අත්ථිරාග සූත්‍රය)

තුන්වැනි ආහාරය තමයි මනෝ සංචේතනා. මනෝ + සං + චේතනා කියන්නෙ මනසින් ගොඩනගන බලාපොරොත්තුවලට. ඒ බලාපොරොත්තු හිතින්, කයින්, වචනයෙන් ක්‍රියාත්මක කරනවා, සංඛාර කරනවා. සංස්පර්ශ කළොත් ඒවා අභිසංඛාර (මතු ඉපදීමට හේතුවෙන සංඛාර) බවට පත්වෙනවා. කෙනෙකුට නාන්න ළිඳට යන්න ඕන කියල බලාපොරොත්තුවක් ඇති වෙනවා. ඊට උවමනා සබන් ආදිය අරගෙන ළිඳට ගිහින් නාගෙන එනවා. මෙතනදි ආස්වාද විඳීමක් නෑ, අවශ්‍යතාවය ඉෂ්ට කරගත්ත විතරයි. ඒත් සංඛාර වුනා. මට නාන්න අහවල් වර්ගයේ හොඳ සුවඳ සබන් ඕන, මේ පුංචි තුවාය මදි, ළිඳෙන් වතුර අදින්න බෑ, වතුර මලක් හදාගන්න ඕන... මේ ආදී වශයෙන් ආස්වාද විඳ විඳ සිංදුවක් කියාගෙන නාන්න හිතුව නම්, ඒ මනෝ සංචේතනාව මතු සසර ගමනට හේතු හදන ආහාරයක් වෙනවා, අභිසංඛාරයක් වෙනවා. සංඛාරවලට ආහාරය මොකක්ද? අවිජ්ජා පච්චයා සංඛාරා... සංඛාරවලට ආහාරය අවිද්‍යාව.

පංචස්කන්ධය කියන දුක හට ගැනීමේ මුලට ආවා. අවිජ්ජා ප්‍රත්‍යයෙන් සංඛාර වේ, සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ, විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාම රූප වේ, නාම රූප ප්‍රත්‍යයෙන් සළායතන වේ, සළායතන ප්‍රත්‍යයෙන් ස්පර්ශ වේ, ස්පර්ශ ප්‍රත්‍යයෙන් වේදනා වේ, වේදනා ප්‍රත්‍යයෙන් තණ්හා වේ, තණ්හා ප්‍රත්‍යයෙන් උපාදාන වේ, උපාදාන ප්‍රත්‍යයෙන් භව වේ, භව ප්‍රත්‍යයෙන් ජාති වේ, ජාති ප්‍රත්‍යයෙන් ජරා මරණ සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාස කියන සියලු දුක් රැස හටගන්නවා කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා.

මේ පටිච්ච සමුප්පාද දහම අනුව, අවිජ්ජා නිරෝධ කළොත් අවිජ්ජා ප්‍රත්‍යයෙන් හටගත්ත සංඛාර නිරෝධ වෙනවා. (සියලු සංඛාර නෙවෙයි.) සංඛාර නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධ වෙනවා... ආදී වශයෙන් ජාති නිරෝධයෙන් ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන සියලු දුක් රැස නිරෝධ වෙනවා. ඒ විදිහට නිරෝධ කළේ අවිජ්ජා ප්‍රත්‍යයෙන් සකස්වුන පංච උපාදානස්කන්ධය කෙරෙහි වූ ඡන්ද රාගය. මරණය සිද්ධ වෙන කල් ඉතුරුවෙන පංචස්කන්ධය පවත්වාගෙන යන්න උවමනා කටයුතුත්, සිව් පසය පිළිබඳ කටයුතුත් කරගන්න අවිජ්ජාවෙන් තොර සංඛාර කරනවා.

අවිජ්ජා දුරු කරන්නෙ කොහොමද? විද්‍යාව පහල වෙන්න ඕන. විද්‍යාව පහල වෙන්නෙ සිවු අරිසස් දැකීමෙන්. සද්ධර්ම ශ්‍රවණයෙන් සිවු අරිසස් අවබෝධ කරගත්ත ආර්ය ශ්‍රාවකයා, මේ සියලු දුක් රැසට හේතුව අවිද්‍යා තෘෂ්ණා සහගත අභිසංඛාර කියල අවබෝධ කරගන්නවා. "සබ්බේ සංඛාරා අනිච්චා, සබ්බේ සංඛාරා දුක්ඛා, සබ්බේ ධම්මා අනත්තාති සෝතාවධානං... රූපං අනිච්චං ඛයට්ඨේන, දුක්ඛං භයට්ඨේන, අනත්තා අසාරකට්ඨේනාති, තං පජානනා පඤ්ඤා සුතමයේ ඤාණං" ආදී වශයෙන් පටිසම්භිදාමග්ග ප්‍රකරණයේ මහා වග්ගයේ 68 පිටුවේ සඳහන් වෙන සංඛාර පිළිබඳ යථා තත්වය සද්ධර්ම ශ්‍රවණයෙන් අවබෝධ වෙනවා.

මනෝ සංචේතනා ආහාරය කෙසේ දැනගත යුතුද කියල බුදුන් වහන්සේ උපමාවකින් පෙන්වල තියෙනවා. ගිනිදැල් නිවිච්ච, දුම් එන්නෙ නැති, යම් පුරුෂයෙකුගේ උසට වැඩි ගැඹුරු ගිනි අඟුරු වළක් තියෙනවා. ජීවත් වෙන්න කැමති, සුව කැමති, දුකට අකමැති යම් කෙනෙක්ගෙ දෙපැත්තෙන්, බලවත් ශක්තිමත් පුරුෂයන් දෙන්නෙක් ඉඳගෙන අර ගිනි අඟුරු වළ දිහාවට අදිනවා. ඒ වෙලාවට අර ජීවත් වෙන්න කැමති අයගෙ හිත එතනින් ඈතටම යනවා, ඈතට යන්නම පතනවා, දුරස් වෙන්නම බලාපොරොත්තු වෙනවා. එහෙම හිතන්නෙ, මේ වළට වැටුනොත් මරණය හෝ මරණය සමාන දුකක් විඳින්න සිද්ධ වෙන බව දන්න නිසා. මනෝ සංචේතනා කියන්නෙත්, මේ වගේ විපාකය ඒ මොහොතේ පේන්න නැති වුනත්, ඒකාන්තයෙන්ම දුකට ඇද දමන මර උගුලක් කියල දැනගන්න ඕන.

අවිජ්ජා ප්‍රත්‍යයෙන් ගොඩනගන සියලු සංඛාරයන්ගේ ප්‍රතිඵලය අපි බලාපොරොත්තු වෙන විදිහට සිද්ධ වෙන්නෙ නෑ. බලු වැඩ (බලු සංඛාර) කරන්නෙ කැමැත්තෙන්. ඒකෙ ආදීනවය බලු ජාතියක උපදින්න සිද්ධ වෙන විපාකයක්. ඒ විපාකයට කැමති නෑ. නමුත් ඒක සිද්ධ වෙනවා. ඒ නිසා සංඛාර කැමති සේ නෑ, අනිච්චයි. අනිච්චං ඛයට්ඨේන කිව්වෙ ඒකයි. ක්‍ෂය වෙනවා, පහත් භාවයට පත් වෙනවා. එතකොට පුණ්‍යාභි සංඛාර හොඳයි නේද කියල හිතෙන්න පුළුවන්. දෙවියෙක්, බ්‍රහ්මයෙක් වෙලා සැප සහිත අත්බැවක් ලැබෙනව නම් කැමතියි. නමුත් ඒ අත්බැවත් සදාකාලික නෑ. පින ගෙවිල ඉවර වෙන දවසට චුත වෙලා දුගතියක වුනත් උපදින්න ඉඩ තියෙනවා. ආනෙඤ්ජාභි සංඛාරයකින් අරූප බ්‍රහ්මයෙක් වුනත්, බ්‍රහ්ම වෙන්න හේතුකාරක වෙච්ච ධ්‍යාන ශක්තිය ගෙවිල ඉවර වුන දවසට එතැනින් චුත වෙලා ක්‍රමයෙන් පිරිහිලා දුගතියක වුනත් උපදින්න ඉඩ තියෙනවා. ඒ නිසා පුණ්‍යාභි සංඛාරයකත්, ආනෙඤ්ජාභි සංඛාරයකත් අවසානය ගෙවිල වැනසිලා යන අනිච්ච එකක්මයි. මේ විදිහට සංඛාර අනිච්චයි කියල දැක්ක නම්, ඒ සංඛාර ගොඩනගන පටිච්ච සමුප්පාද ක්‍රමය දැක්ක නම්, සංඛාරවලට කැමැත්තෙන් බැඳීම අත්හැරල, සංඛාර (මනෝ සංචේතනා) නිරෝධ කරල නිවන් දකින්න පුළුවන්. පුත්ත මාංස සූත්‍රයේ මනෝ සංචේතනා ගැන දේශනා කරල තියෙන්නෙ මේ විදිහට. "මනෝ සංචේතනා පරිඥාත කල්හි තෘෂ්ණාත්‍රය (කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා) පරිඥාත වේ. එකල්හි කාම භවය, රූප භවය, අරූප භවය පරිඥාතය. මත්තෙහි කටයුතු කිසිවක් නැත."

හතරවෙනි ආහාරය තමයි විඤ්ඤාණය. මනෝ සංචේතනා කියන්නෙ සංඛාර, සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ කියල මුලින් පැහැදිලි කළා. මනසින් යමකට කැමැත්තෙන් බැඳුනොත්, සංඛාර කළොත්, ඒ කැමැත්ත ඉෂ්ට කරගන්න ශක්තියක් ගොඩනැගෙනවා. ඒ ශක්තියට විඤ්ඤාණය කියල කියනවා. සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ කිව්වෙ ඒකයි. විඤ්ඤාණය දන්නවා,






# වස විස ආහාරවලට එරෙහි විකල්ප 06

පෙර හෙළයන් ආහාරයට ගත්ත, වස විස නැති, පෝෂණ ගුණයෙන් හා ඖෂධ ගුණයෙන් ඉහල තවත් ස්වභාවික කොළ ආහාර වර්ග කිහිපයක් මෙවරත් ඔබගේ ප්‍රයෝජනය පිණිස සටහන් කරනවා.

**අස්වැන්න** : උඳුපියළිය කොළයට වඩා ටිකක් විසාලව, දම් පාටට හුරු රෝස පාට මල් සහිතව හැම තැනම බහුලව වැවෙන පළා වර්ගයක්. බොහෝ දෙනෙක් ඖෂධයක් විදිහට විතරක් දනගෙන හිටියත් ඉතාමත් රසවත් ආහාරයක්. මස් ලේ අඩුකමින් ශරීරය ඉතා කෘෂව වැඩිච්ච අයට කැඳක් විදිහට හදල භාවිතා කිරීමෙන් ඒ තත්ත්වය පහ වෙලා ශරීරය වැඩෙන්න හේතු වෙනවා. පණු අමාරුවලටත් ඉතා ගුණදායකයි. ඒ වගේම කාන්තාවන්ගේ මාස් ශුද්ධි අවස්ථාවල අධික රුධිර වහනය නතර කර ගැනීමටත්, ඇඟ උණු කරවා යාම කියන අක්‍රමිකතාවයටත් ඉතා ගුණදායකයි. රුධිරය පිරිසිදු කිරීමේ ගුණයෙන් යුක්තයි. හෘද රෝගීන්ටත්, කිරි දෙන මව්වරුන්ටත් ගුණදායකයි.

සාමාන්‍ය මැල්ලුමක් හදාගන්න ආකාරයට පොල්, ළූණු, ගම්මිරිස්, ලුණු... ආදිය එකතු කරල සිහින්ව ලියාගෙන සකස් කරගන්න පුළුවන්. එහෙම නැත්නම් ගොටුකොළ ව්‍යංජනයක් හදාගන්න ආකාරයට

›

විඤ්ඤාණයට හේතුව දන්නවා, විඤ්ඤාණය නිරෝධ කළ යුතු බව දන්නවා, සංඛාර නිරෝධය විඤ්ඤාණ නිරෝධ කරන මාර්ගය කියල දන්නවා. විඤ්ඤාණ ආහාරය කෙසේ දැනගත යුතුද කියල බුදුන් වහන්සේ උපමාවකින් පෙන්වනවා. වරදකරු වෙච්ච හොරෙක් රජු ඉදිරියට ගෙනාවම දඬුවම් නියම කරනවා. පෙරවරුවේ කස පහර සියයකින් පෙළන්න කියනවා. මද්දහන වෙන කොටත් ජීවත් වෙනව නම් තව කස පහර සියයකින් පෙළන්න කියනවා. හවස් වෙන කොටත් ජීවත් වෙනව නම්, තවත් කස පහර සියයකින් පෙළන්න කියනවා. මේ විදිහට දහවල් කාලයේ කස පහර තුන් සියයකින් ඇතිවුන වේදනා විඳින සොරා යම් දුකක් දොම්නසක් විඳිනවද, විඤ්ඤාණ ආහාරයක් සකස් වුනොත්, ඒ බලාපෙරොත්තුව ඉෂ්ට වෙනකල් සංඛාර දුක්ඛ, දුක්ඛ දුක්ඛ, බලාපොරොත්තුව ගෙවිල වැනසිලා යනකොට එන විපරිනාම දුක්ඛ කියන සියලු දුක් විඳින්න වෙනවා.

විඤ්ඤාණ ආහාරය අපිව ඒ විදිහට පෙලනවා කියල වටහා ගන්න ඕන. කස පහර සියයක වේදනාව වින්ද සොරා මරණයට පත්වුනා නම්, අනෙක් දෙසීය විඳින්න වෙන්නෙ නෑ. ඒ වගේ **යම් කෙනෙක් ජීවිතේ මුල් කාලෙදි මේ දහම අවබෝධ කර ගත්තොත්, බලාපොරොත්තු ගොඩනගන එක අතහැරල දුකෙන් නිදහස් වෙන්න පුළුවන්.** දෙවෙනි කස පහර සියයක වේදනාවත් විඳල සොරා මරණයට පත්වුනා නම්, අනෙක් කස පහර සියයේ වේදනාව විඳින්න වෙන්නෙ නෑ. ඒ වගේ **යම් කෙනෙක් ජීවිතේ මැදි වයසෙදි දහම අවබෝධ කරගෙන බලාපොරොත්තු ගොඩ නගන එක අත්හැරිය නම්, ජීවිතේ අවසාන කාලෙදි දුකෙන් නිදහස් වෙලා ඉන්න පුළුවන්.** ජීවිතේ අවසාන කාලෙදිවත් දහම අවබෝධ කරගත්තෙ නැත්නම්, සසරෙ බොහෝ කල් දුක් විඳින්න සිද්ධ වෙන්න ඉඩ තියෙනවා. ඒ නිසා ස්පර්ශ අරමුණු අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් මෙනෙහි කරල, අත්හැරීමෙන් නොඇල්මෙන් මිදීමෙන් විඤ්ඤාණ නිරෝධ කරල නිවන් දකින්න පුළුවන්.

සබ්බේ සත්තා ආහාරට්ඨිතිකා කියන එකම කාරණය හරියාකාරව අවබෝධ කරගෙන නිවන් දකින්න පුළුවන්. මේ එක නම් මොකක්ද කියන ප්‍රශ්නය ඉතාම තීක්ෂණ නුවණක් තිබුණ සාමණේරයන් වහන්සේ නමකගෙන්, නිවන් මග විවර කර දෙන්න බුදුන් වහන්සේ විමසල තියෙන ප්‍රශ්නයක්. ඒ දහම් ක්‍රමය අනුගමනය කරල සසර දුකෙන් මිදෙන්න අධිෂ්ඨාන කර ගන්න.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කරන ලද සැඟවුනු දහම් කරුණු ඇසුරින් සහ පුත්ත මාංස සූත්‍රය ඇසුරින් සකස් කළේ:*


**ඩබ්ලිව්. ඒ. තිළිණාවතී**

**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනි - කඩවත.**

**011-2901508**

පොල් කිරි ටිකක්, එළුණු, ලූණු... ආදියත් එකතු කරල රසවත් ව්‍යංජනයක් විදිහට හදාගෙන ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම බැදුමක් ආකාරයටත් හදාගන්න පුළුවන්. අස්වැන්න ගහ සහමුලින්ම කොටාගෙන සාමාන්‍ය කොළ කැඳක් හදාගන්න ආකාරයට සකස් කරගෙන පානය කිරීමෙන් ඉහත සියලු රෝග නිවාරණයට ගුණදායකයි. අක්මා රෝගීන්ටත් විශේෂයෙන් ගුණදායකයි.

**කටු තම්පලා** : රතු තම්පලා, සුදු තම්පලා, කටු තම්පලා, කූර තම්පලා, සාමාන්‍ය තම්පලා... ආදී වශයෙන් වර්ග කිහිපයක්ම දකින්න පුළුවන්. මේ සියලු තම්පලා වර්ගවලින් සිද්ධ කරන්නෙ ශරීරයේ තැන් තැන්වල පැළ පදියම් වෙලා තියෙන වා පිත් සෙම්වලින් හට ගන්නා සියලු අපද්‍රව්‍ය පලවා හැරීම. රතු තම්පලාවලින් රුධිර සංසරණ පද්ධතිය ආශ්‍රිත රෝගාබාධත්, කූර තම්පලාවලින් ස්නායු පද්ධතිය ආශ්‍රිත රෝගාබාධත්, කටු තම්පලාවලින් අස්ථි පද්ධතිය ආශ්‍රිත රෝගාබාධත්, සුදු තම්පලාවලින් මොළය ආශ්‍රිත රෝගාබාධත්, සාමාන්‍ය තම්පලාවලින් මාංශ පේශි ආශ්‍රිත රෝගාබාධත් දුරු කරගන්න හෙළ වෙදකමේදී ඒ ඒ තම්පලා වර්ග වෙන වෙනමත් යොදා ගන්නවා.

විශේෂයෙන් කටු තම්පලා ශරීරය සිසිල් කරන ගුණයෙන් යුක්තයි. ඇස් පෙනීම තීව්‍ර කරනවා. ශීර්ෂ රෝග සමනය කරනවා. රතු රුධිරාණු මට්ටම ඉහළ දමනවා. ආමාශයේ සහ මහ බඩවැලේ කටු වගේ බැඳිල තියෙන කාරම් ඉවත් කරනවා. මලබද්ධය දුරු කරනවා. ශරීරයේ දරා ගැනීමේ ශක්තිය ඉහල දමනවා. මේ සියලු තම්පලා වර්ග පොදුවේ ගත්තම ශරීරයේ හා සමේ පැහැපත් බව ඇති කරනවා, මළමුත්‍රා පහ කිරීමේ පහසුව ඇති කරනවා, ආහාර දිරවීම කාර්යක්‍ෂම කරනවා, රත්පිත් රෝග සමනය කරනවා. කටු තම්පලාවල කටු ඉවත් කරල සාමාන්‍ය ව්‍යංජනයක් විදිහට විතරක් නෙවෙයි, කැඳක් විදිහටත් පිළියෙල කරගන්න පුළුවන්. වේළල තියාගෙන තේ වෙනුවට තම්බල පානය කරන්නත් පුළුවන්.

**ඇඹුල් ඇඹිලිය** : තෙතමනය සහිත ගෙවතුවල ස්වභාවිකවම වැවෙන, ඇඹුල් පළා කියන නමිනුත් හඳුන්වන පළා වර්ගයක්. මුත්‍රා පද්ධතිය ආශ්‍රිත රෝගාබාධවලට ප්‍රතිකාර කරන්න හෙළ වෙදකමේදී යොදා ගන්නවා. දියවැඩියාව සමනය කිරීමේ සහ මුත්‍රාශයේ ගල් දිය කිරීමේ ගුණයෙන් යුක්තයි. අග්න්‍යාශය ප්‍රකෘතිමත් කරනවා. මුත්‍රා දැවිල්ල සමනය කරනවා. යටිබඩ කැක්කුම් වහා සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. ආහාර අරුචිය, අජීර්ණ දෝස, අර්ශස් අමාරු, සමේ රෝග, ඇස් රෝගවලටත් ගුණදායකයි. ඒ වගේම ශරීරයේ තියෙන ඉදිමුම් නසන, වේදනාවන් පහ කරන ගුණයෙන් යුක්තයි. හීන්වෙන්න ලියාගෙන පොල්, රතු එළුණු, දෙහි ඇඹුල්, ලූණු... ආදිය එකතු කරල සම්බෝලයක් විදිහටත්, කලවම් මැල්ලුමක් විදිහටත්, ගහ සහමුලින්ම අරගෙන කැඳක් විදිහටත් හදාගෙන ආහාරයට ගන්න පුළුවන්.

**මුකුණුවැන්න** : මුකුණුවැන්න සහ මකුණුවැන්න කියල වර්ග 2 ක් තියෙනවා. අද වෙළඳපොලේ මුකුණුවැන්න කියල බොහෝ කොටම විකුණන්න තියෙන්නෙ මකුණුවැන්න. නමුත් මේ දෙවර්ගයම ආහාරයට ගන්නවා. මුකුණුවැන්න වෙල් නියරවල්වල, දෙපා දිය පහරවල් අසළ ස්වභාවිකවම වැවෙන පළා වර්ගයක්. දණ්ඩ රතු පාටට හුරුයි. තද කොළ පාට පත්‍රවලින් යුක්තයි. මල් හට ගන්නෙ ඉතාමත් කුඩාවට. හෙළ වෙදකමේදි බොහෝ කොටම ප්‍රයෝජනයට ගන්නෙ මේ කොළ මුකුණුවැන්න.

මකුණුවැන්න ශාකයේ දණ්ඩ කොළ පාටයි. පුරුක් කොළ අතර සුදු පාට මල් හට ගන්නවා. පත්‍ර බොහෝ කුඩායි.

රතු මුකුණුවැන්න කියල තවත් ප්‍රභේදයක් තියෙනවා. ඒක සහමුලින්ම රතු පාටයි. නාගරික ගෙවල්වල විසිතුරු පැළෑටියක් විදිහටත් වගා කරනවා. කොහොම නමුත් මේ වර්ග තුනම ආහාරයට ගන්නවා.

හෙළ වෙදකමේදී රතු මුකුණුවැන්න රුධිර පට්ටිකා වර්ධනය සඳහාත්, ගර්භාශගත රෝග සඳහාත් යොදා ගන්නවා. කොළ මුකුණුවැන්න අක්ෂි රෝග සඳහාත්, ශීර්ෂ රෝග සඳහාත්, ස්නායු පද්ධතිය ආශ්‍රිත රෝග සඳහාත් විශේෂයි.

ඒ වගේම මේ වර්ග තුනම මළබද්ධය දුරු කරනවා. අම්ල පිත්ත ප්‍රදාහයටත් ගුණදායකයි. අධික ලෙස ශරීරය සිසිල් කරන ආහාරයක්. පීනස්, සෙම් රෝග බහුල අයට තරමක් අගුණයි. ව්‍යංජනයක්, මැල්ලුමක් විදිහටත්, බැදුමක් හෝ කැඳක් විදිහටත් හදාගන්න පුළුවන්.

**බරුකොකු** : කඳු සහිත බෑවුම්වල, දිය පාරවල් අසළ, තෙතමනය සහිත ස්ථානවල ස්වභාවිකව වැවෙන තරමක් උස් මීවන වර්ගයේ පැළෑටියක්. මඩු ගහක් ආකාරයට වැඩෙන මේ ශාකයේ මඩු අතු වගේ දිගටි පත්‍ර පිහිටල තියෙනවා. ළපටි දල්ල හැකරැල්ලෙක් වගේ වට කැරකිලා ඉහලට යනවා. මෝරන කොට දිග ඇරිල පළල් වෙලා පොල් අත්තක ස්වරූපය ගන්නවා.

ළපටි දළු ඉතාමත් ගුණදායක ආහාරයක්. ප්‍රධානම ගුණය තමයි රතු රුධිරාණු මට්ටම ඉහල දැමීමේ හැකියාව. ඩෙංගු, ලියුකේමියාව වගේ රෝගවලදි රුධිර පට්ටිකා වර්ධනය කරන්න පුළුවන් ප්‍රධාන පෙළේ ඔසුවක්.

එළු මස්වලට ආදේශකයක් විදිහටත් හෙළ වෙදකමේදි යොදා ගන්නවා. බරුකොකු ආහාරයට ගැනීමෙන් ආතරයිටීස් රෝගයේදි හන්දි අතර තියෙන බැඳීම් ලිහිල් වීම මග හරවා ගන්නත්, ඇට මිදුළු වර්ධනය කරගන්නත්, මාංශ පේශි ලිහිල් වීම මග හරවා ගන්නත්, ප්‍රතිශක්තිකරණය වැඩි කර ගන්නත් පුළුවන්. ඒ වගේම තුන්දොස් සමනයටත් ඉවහල් වෙනවා. ගර්භාශය තුල දරුවෙක් ඇකිළිලා උණ්ඩි වෙලා ඉන්න ආකාරයටත්, මෙලොවට උපන්දා පටන් ඒ ඇකිළිලා ගිය ස්වභාවය මග හැරල අතපය විහිදල බරු ගසා නැගිටින ආකාරයටත් මේ ශාකය හෙළ වෙදකමේදි හඳුන්වනවා.

සම්බෝලයක් විදිහට හදාගන්න කොට, ළපටි දළු සහ දඬුවල කහට ගතිය ඉවත් වෙන්න තම්බල දිය ඉවත් කරල පොල් සමග මිශ්‍ර කරල ගන්න. එහෙම නැත්නම් තම්බන්නෙ නැතිව සාමාන්‍ය එළවළු ව්‍යංජනයක් පිළියෙල කරන ආකාරයටත්, ඒ වගේම බැදුමක් විදිහටත් හදාගන්න පුළුවන් රසවත් ආහාරයක්.

**ඇඹරුල්ල දළු** : බොහෝ දෙනෙක් ඇඹරුල්ල ගෙඩි ආහාරයට ගත්තත්, දළු ආහාරයට නොගන්නෙ ඒ ගැන දන්නෙ නැති නිසා. නමුත් ප්‍රබල ඖෂධීය ගුණයක් තියෙන ඇඹරුල්ල දළුත් රසවත් ආහාරයක්. ඇස් පෙනීම වර්ධනය, ආහාර රුචිය වැඩි කිරීම, ස්නායු පද්ධතිය සක්‍රීය කිරීම, ශරීරය තුල තියෙන සියලු පද්ධති රැකගෙන ප්‍රතිශක්තිය වැඩි කිරීම කියන මේ ගුණාංගවලින් යුක්තයි.

හොඳින් පැහිච්ච ඇඹරුල්ල ගෙඩියක් ඉදිල කුණු වෙලා ගියාම මැද ඇටය සමග එකිනෙක බැඳුන මහා කෙඳි රාශියක් දකින්න පුළුවන්. අපේ සම්පූර්ණ අක්ෂි ගෝලය සමග ඇහැ ගත්තමත්, රුධිර නාල ස්නායු... ආදිය සමග මේ ඇඹරුල්ල ගෙඩියකට හෙළ වෙදකමේදි උපමා කරල

තියෙනවා. ඒ වගේම හිස් කබල ඇතුලෙ තියෙන මොළයත් මේ විදිහට ඇඹරැල්ල ගෙඩියකට උපමා කරල තියෙනවා.

රුධිර නාල තුල ලේ කැටි හට ගැනීම වැළැක්වීම, රුධිර නාල ප්‍රසාරණය කරල රුධිර සැපයුම පහසුවෙන් ක්‍රියාත්මක කරවීම, ස්නායු පද්ධතිය සක්‍රිය කරල දත්ත සම්ප්‍රේෂණය වේගවත් කිරීම වගේ වටිනා ගුණ රැසක් ඇඹරැල්ලවල තියෙනවා. ඒ වගේම ආමාශයේ ආහාර ජීර්ණයට බලපාන එන්සයිම පාලනය කිරීම සහ අංගුලිකා වටා බැඳිල තියෙන කාරම් ගලවල ඉවත් කිරීම, දිවේ තියෙන රස ග්‍රන්ථි සක්‍රිය කිරීම... ආදී තවත් ගුණාංග රැසක් ඇඹරැල්ලවල අඩංගුයි.

ඇඹරැල්ල ළපටි කොළ / දළු හීන් වෙන්න ලියාගෙන සම්බෝලයක් විදිහටත්, සාමාන්‍ය එළවළුවක් හදන ආකාරයටත් සකස් කරගෙන ආහාරයට ගන්න පුළුවන්. ඇඹරැල්ල ගෙඩි ඉදුනට පසු පළතුරක් විදිහටත් භාවිතා කරනවා. හැබැයි මේ කියන ගුණ 100% ක්ම තියෙන්නෙ දේශීය ඇඹරැල්ල හෙවත් වල් ඇඹරැල්ලවල.

**මුරුංගා දළු, කොළ, කරල් :** දූනට මුරුංගා කරල් පමණක් ආහාරයට ගත්තත්, හෙළ වෙදකමේදි කොළ, මුල්, මල්, කරල්, පොතු... ආදී පස් පංගුවම ඖෂධ සඳහා යොදා ගන්නවා. උෂ්ණ ආහාරයක් නමුත් විසෙන් විස සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. ගහේ මුල් සර්ප විස ඇතුළු ශරීරයේ විස ඉවත් කරන්නත්, පොතු නස්න කිරීම් ආදියටත්, පීනසට, ඉරුවාරදයට ඖෂධයක් විදිහටත්, කොළ / දළු උෂ්ණාධික ආහාරවල උෂ්ණ ගතිය සමනය කරන්නත් යොදා ගන්නවා. රට දෙල් වගේ උෂ්ණාධික ආහාර උයන කොට මුරුංග කොළ මිටක් එකතු කරන්නෙ මේ අධික උෂ්ණය සමනය කිරීමේ ගුණය නිසා. වියළි කලාපයේ ඉඩෝර කාලවලදි බොන්න වතුර නැති වුනාම බොර දියට මුරුංගු ඇට කුඩු කරල දාල ටික වෙලාවක් තියල බොන්න ගන්නවා. එතකොට ඒ ජලයේ බොර ගතිය නැති වෙලා සියලු අපද්‍රව්‍ය ජලය පතුලට කිඳා බැහැල ජලය පිරිසිදු වෙනවා. ඒවායේ තියෙන විස නැසීමේ ගුණයෙන් ශරීරයට අපත්‍ය දේ ඉවත් කරල පිරිසිදු කරල දෙනවා.

මුරුංග මල් බැදුමක් විදිහටත්, කොළ / දළු කැඳක්, මාළුවක් හෝ මැල්ලුමක් විදිහටත් පිළියෙල කරගෙන ආහාරයට ගන්න පුළුවන්.

**හාතවාරිය :** ශරීරය තුල වාතය හා බැඳුන සියළු දොස් නැසීමේ මහා ගුණයකින් යුක්තයි. කොළ සහ අල ඖෂධ සඳහා විශේෂයි. මස් පිඩු පෙරළීම්, මස් පිඩු වේදනා, බඩ පිපුම්, අර්ශස් අමාරු, සන්ධිගත වේදනා, ස්නායු දුර්වලතා, ඇස් රෝග සමනය කරන්න හාතවාරිය ඖෂධයක් වශයෙන් යොදා ගන්නවා. තෙල්, මිරිස්, කෘතීම රසකාරක යොදපු ආහාර අනුභවයෙන් හට ගන්නා බඩ පුරවා දැමීම්... ආදියට හාතවාරිය අල තම්බල පිට පොත්ත සහ මැද නාරටිය ඉවත් කරගෙන පොල් සමග ආහාරයට ගැනීමෙන් ඒ තත්ත්වය වහා දුරුවෙන්න හේතු වෙනවා. හාතවාරිය කොළ කැඳක් විදිහටත් ඖෂධීය පානයක්. රෝග බොහොමයකටම ගුණදායකයි. හාතවාරිය තුල තියෙන තවත් විශේෂ ගුණයක් තමයි ශරීරයේ ස්නායු තාවකාලිකව අඩපණ කිරීමේ හැකියාව. ඒ මගින් වේදනා නාශකයකින් ශරීරයට ලැබෙන සහනය ගන්න පුළුවන්. හාතවාරිය වැල, කොළ, මල්, මුල්, අල (පොත්ත ඉවත් කර) සහ ගෙඩි සහමුලින්ම වේළල තියාගෙන තේ වෙනුවටත් උණ, හෙම්බිරිස්සාව හැඳුන විටත් පානය කිරීමෙන් ශරීරයට සුවදායක බවක් ලැබෙනවා. රාත්‍රී කාලයේ ඇස් පෙනීම දුර්වල අයට හාතවාරිය කොළ ගිතෙල්වලින් බැදගෙන ආහාරයට ගැනීමත් බොහොම ගුණදායකයි.

**තිත්ත අඟුණ :** කිරි අඟුණවලට සමාන වුනත් ඊට වඩා තද කොළ පාටින් යුක්ත වැලක් විදිහට ස්වභාවිකව වැවෙන ශාකයක්. ඖෂධීය වටිනාකම ඉතා ඉහළයි. **රුධිරයේ සීනි මට්ටම ඉහළ යාම ඉතා ඉක්මණින් පාලනය කරන නිසා දියවැඩියා රෝගීන්ට ඉතා වටිනා ආහාරයක්.** ඒ වගේම අධි රුධිර පීඩනය පාලනය කරනවා. අග්න්‍යාශය ප්‍රාණවත් කරනවා. ශරීරයේ යම් යම් ඉන්ද්‍රියන් තුල තැන්පත් වෙච්ච විස හෝ වෙනත් අපද්‍රව්‍ය තියේ නම්, ක්‍රමානුකූලව මහ බඩවැල කරා ගෙනැවිත් ඒ ඉන්ද්‍රියන් යථා තත්ත්වයට පත් කරන්න උපකාර වෙනවා. ඉස්සර මී මැස්මොර රෝගීන් බය වුනාම බත් සමග කෑමට තිත්ත අඟුණ සම්බෝලයක් හදල දෙනවා.

තිත්ත අඟුණ කොළ මිටක් හීන් වෙන්න ලියාගෙන දෙහි, රතු ළූණු, ගම්මිරිස්, ලුණු, පොල්... ආදිය මිශ්‍ර කර ගැනීමෙන් ඉතා රසවත් සම්බෝලයක් හදාගන්න පුළුවන්. යමක් කමක් තේරෙන මට්ටමේ දරුවන් රෑ නින්දෙන් ඇඳේ මුත්‍රා පහ කරනකොට, තිත්ත අඟුණ කොළ සම්බෝලයක් විදිහට හදල දීමෙන් ඒ තත්ත්වය ක්‍රමානුකූලව මග හැරිල යනවා. ඒ වගේම කලවම් පළා හදනකොටත් අඟුණ කොළ මිටක් එකතු කරගන්න පුළුවන්.

**ලබු :** දිය ලබු, කැට ලබු, පත්තක්ක ලබු වශයෙන් වර්ග කිහිපයක් තියෙනවා. ආමාශයේ, මහ බඩවැලේ, කුඩා බඩවැලේ තියෙන කාරම් ඉවත් කිරීම, ඉනා බන්ධන... ආදිය නිසා ශරීරයේ මහා බඩවැල්වල අංගුලිකා ඝන වීමෙන් ඇතිවෙන මළබද්ධයට ප්‍රතිකාර කිරීම, කිරි නැති මව්වරුන්ට කිරි එරවීම, දරුවන් වදන්න අපහසුතා ඇති මව්වරුන්ට වැදීම පහසු කරවීම... ආදියට ලබු යොදා ගන්නවා. ආහාරයක් වශයෙන් ගත්තත් ඒ ගුණ ලැබෙනවා. හෙළ වෙදකමේදි ලබුවල පස් පංගුවම ඖෂධ විදිහට ගන්නවා. අම්ල පිත්ත ප්‍රදාහය නිසා හට ගන්නා තුවාල සමනය කිරීමේ ගුණයක් දිය ලබුවල තියෙනවා. දිය ලබු ව්‍යංජනයක් විදිහට ආහාරයට ගැනීමෙන් හදවත ආශ්‍රිත රෝග සුව වෙනවා.

නියපොත්ත ගැහුවම ලෙල්ල පසාරු වෙලා යන ප්‍රමාණයට පැහිච්ච, ලෙලි ගහපු පොල් ගෙඩියක් තරම් දිය ලබු ගෙඩියක් අරගෙන, යකඩ පිහි හෝ හැඳි භාවිතා නොකර, පොළොවෙ ගහල දෙකට වෙන් වෙන්න පළාගන්න. සුදු යකඩ පිහියකින් පලන්න පුළුවන් වුනත් තරමක් තැලීම අවශ්‍ය නිසයි පොලොවෙ ගහල පලාගන්නෙ. දැන් එයින් එක පළුවක් විතරක් අරගෙන අතේ මහපටැඟිල්ල තරම් හීන් බේත් ඉඟුරු කෑලි 3 ක් ඒ ලබු පළුව තුලට ඇතුල් කරන්න. පෙරුම්කායං තේ හැන්දක් (ග්‍රෑම් දෙකහමාරක්) විතර අරගෙන කෙසෙල් කොළ කෑල්ලක ඔතල ඒකත් අර ඉඟුරු කෑලිත් එක්කම ඒ ලබු පළුව ඇතුලට දාල විසිරිලා එළියට නොයන්න කෙසෙල් කොළ පොටවල් 7 කින් විතර හොඳින් ඔතන්න. ඒක දර ලිපක් ඇතුලෙ තැන්පත් කරල උණු අළුපල්ලෙ හොඳින් විනාඩි 30 ක් විතර තම්බ ගන්න. පිටතට අරගෙන ලබු මදයත් එක්ක ඇතුලෙ තියෙන මිශ්‍රණය හූරල අරගෙන (පෙරුම්කායංවල කෙහෙල් කොලය ඉවත් කරල) මිශ්‍රණ යන්ත්‍රයකින් පොඩි කරගෙන එළගිතෙල් අවුන්ස 1/2 ක් විතර එකතු කරල මිශ්‍ර කරගෙන මේස හැඳි 1 බැගින් දින 3 ක් විතර උදේ රෑ කෑමට පෙර පාවිච්චි කරන්න. පාවිච්චි කරන කාලයේ සීතකරණයක තියන්න. මේ මගින් ආහාර අරුචිය දුරුවෙනවා. මහ බඩවැලේ, ආමාශයේ තියෙන කාරම් ගැලවිලා








# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ගිහි වතක සිටියදී ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සළකා ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කළ තවත් වටිනා ප්‍රත්‍යක්‍ෂ සමාධිමය අත් බෙහෙත් කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස මෙවරත් සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බෙහෙතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වන බව සළකන්න. ඒ වගේම මේ බේත්වලට ගන්නා අමුද්‍රව්‍ය ප්‍රමාණයන් සඳහන් කරල තියෙන්නෙ, එකවර සෑහෙන පිරිසකට අවශ්‍ය ප්‍රමාණයකට නිසා, තමන්ට අවශ්‍ය පරිදි මේ අනුපාතයම එන විදිහට ඒ ඒ අමුද්‍රව්‍ය අඩු වැඩි කරල ගන්න පුළුවන්.

## 1. මූලාධාර චක්‍ර ප්‍රාණවත් කර රෝග රැසකට ප්‍රත්‍ය වන ඖෂධයක්

අවශ්‍ය අමුද්‍රව්‍ය :- වියළි ගම්මිරිස්, වියළි ඉඟුරු, වියළි කුරුඳු පොතු කිලෝ 3 බැගින්, පැණි කොමඩු යුෂ බෝතල් 3 යි, දිය තිප්පිලි ඉස්ම බෝතල් 3 යි, අසමෝදගම් ස්ප්‍රීත්තු බෝතල් 3 යි, බැදපු කොල්ලු පිටි කිලෝ 3 යි, කහ පාට සහ තිල් පාට (කොළ) උණ බොඩවලින් සම සමව ඉස්ම බෝතල් 3 යි, ස්වභාවික පොල් විනාකිරි බෝතල් 3 යි, සම්පූර්ණ ගෙඩිය පිටින්ම කොටා මිරික ගත් දේශීය දෙළුම් ඉස්ම බෝතල් 3 යි. (මේ ඉස්ම ගන්න අමුද්‍රව්‍ය සියල්ලම වතුර නොදා ඉස්ම විතරක් ගත යුතුයි.)

මේ සියල්ල එකට අඹරගෙන සෙල්සියස් අංශක 50 ට අඩු උෂ්ණත්වයකින් හෝ සුලං යන්ත්‍රයක් ආධාරයෙන් හෝ වේළගෙන ගුලි කරගන්න පුළුවන් පදමට ආවම කෝපි ගෙඩි පමණට ගුලි කරල හොඳට වේළල තියාගන්න. උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් මාස 3 ක් ගන්න.

මේ ඖෂධය පාවිච්චි කිරීමෙන් කොඳු ඇට පෙළේ වේදනා, පාදවල වේදනා, මාස් ශුද්ධි වේදනා දුරු වෙනවා. මූලාධාර චක්‍ර නිසි ලෙස ක්‍රියාත්මක වෙනවා. හෘදයාබාධ දුරු වෙනවා. ආතරයිටීස් සමනය වෙනවා. මානසික බලය වර්ධනය වෙනවා.

## 2. රතගාය, සියලු සෙම් ආබාධ, කොලෙස්ටරෝල්, ආතරයිටීස්, දියවැඩියාව ඇතුළු රෝග රැසක් සමනයට පැණියක්

ඉඟුරු මල් ඉස්ම බෝතල් 10 යි (සමහර කාලවලට ඉඟුරු පඳුරේ මැදින් දණ්ඩක් ආකාරයට ඇවිත් බඩ ඉරිඟු කරලක් වගේ පිපෙන මල්.

**යනවා. ඉනා බන්ධන ආදිය ගැලවිලා යනවා. මළබද්ධය දුරු වෙනවා. (මෙය වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් හඳුන්වා දුන් ඖෂධයකි.)**

ආහාරයට ගන්නකොට ඉහත ඕනෑම වර්ගයක ළපටි කොළ හෝ ලබු දළු අරගෙන කංකුං තෙල් දාන විදිහටත්, බැදුමක් විදිහටත් සකස් කරගන්න පුළුවන්. වෙළඳපොලේ තියෙන කෙටි ආහාර වන චයිනීස් රෝල්ස්, කට්ලට් ආකාරයටත් ලබු දළු සකස් කරගන්න පුළුවන්. පළමුව ලබු දළු හෝ ළපටි කොළ අරගෙන හෝදගෙන තවුමරන්න (මෙළෙක් වෙන්න) අව්වට දාන්න. ලබු කොළවල නැටි සමග රතු ළූණු, සුදු ළූණු, දේශීය අල වර්ගයක්, රම්පෙ, කරපිංචා, එනසාල්, කුරුඳු පොතු, ගම්මිරිස්, ලුණු... ආදියත් එකතු කරල මේ සියල්ලම තෙල් දාල කට්ලට් හෝ රෝල්ස්වල මැදට දාන ආලේපය විදිහට හදා ගන්න. ඉන්පසු ඒ මිශ්‍රණය තවුමැරිච්ච ලබු කොළවල ඔතාගෙන ලිහෙන්නෙ නැති විදිහට ඉරටු කැල්ලක් ගහල, දේශීය ධාන්‍ය පිටි ස්වල්පයක් පොල් කිරිවලින් දිය කරගෙන ඒ මිශ්‍රණ දියරයට දාල තවරගෙන පිරිසිදු ගැඹුරු පොල් තෙලේ බැදගන්න. වෙළඳපොලේ තියෙන වස විස සහිත කට්ලට්, රෝල්ස් ආහාරයට ගන්නවට වඩා ඉතා රසවත්, ගුණවත් ආහාරයක් විදිහට ඕනෑම කෙනෙකුට පිළිගන්වන්න පුළුවන්.

ඒ වගේම ලබු දළු සාමාන්‍ය කැඳක්, මැල්ලුමක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්. ලබු ගෙඩි ව්‍යංජනයක් විදිහට කොස් ඇට එක්ක සකස් කරගන්නත් පුළුවන්. කිරිබත් උයනකොට එකතු කිරීමෙන් ඉතාමත් රසවත් ලබු කිරිබත් හදාගන්න පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

මේ ඉස්ම වතුර නොදා හදාගන්න පුළුවන් නම් වඩා හොඳයි. නැත්නම් ඉස්ම ගන්න පුළුවන් ප්‍රමාණයට පමණක් වතුර පොඩ්ඩක් එකතු කරන්න.), පිරිසිදු කිතුල් පැණි බෝතල් 5 යි. මේ දෙකම ලිපේ තියල අංශක 70 ට නොවැඩි උෂ්ණත්වයක බස්සවගෙන පැණි කරල තියාගන්න. වසර 3 ක් තියා ගන්න පුළුවන්.

කුඩා දරුවන්ට රතගාය කියන රෝග තත්ත්වයේදී මේ පැණියෙන් උදේ වරුවේ තේ හැඳි 1/2 බැගින් දින 10 ක් පමණ දෙන්න.

වැඩිහිටියෙකුට උදේ, රාත්‍රී තේ හැඳි 1 1/2 බැගින් කෑමට පසු ගැනීමෙන් සෙම් ආබාධ නිසා එන හමේ කළු රතු පැල්ලම් ඉවත් වෙනවා. සියලු සෙම් ආබාධ සමනය වෙනවා. ඇලදිව, අක්මාව යථා පරිදි ක්‍රියාත්මක වෙනවා. නහරවල බැඳුන කොලෙස්ටරෝල් දිය කරල ඉවත් කරනවා. ලේ ගමනාගමනය නිසි පරිදි ක්‍රියාත්මක වෙනවා. ආතරයිටීස් සමනය වෙනවා. ශරීරයේ ඉදිමුම දුරු වෙලා ස්වභාවික තත්ත්වයට පත් වෙනවා. දියවැඩියාව සමනය වෙනවා.

### 3. ඇස්, මොළය හා සම්බන්ධ ආබාධ සුව වීම සඳහා

අවශ්‍ය අමුද්‍රව්‍ය :- මහ ඇඹිල්ල ගහේ කොළ දළු, මල්, ගෙඩි, මුල්, පොතු ග්‍රෑම් 500 බැගින්, නිවාගත්ත උණු වතුර බෝතල් 3 යි, පෙනේරයකින් හලා ගත් ලිපේ අළු කිලෝ 2 යි (මේ අළු ලබා ගැනීමට කුරුඳු දර කැබැල්ලක් සමග පොල් පිති කැබැල්ලක් හෝ පොල් කොළපුවක් හෝ පොල් ලෙල්ලක් හෝ එකතු කළ යුතුයි. වෙනත් දර තිබුනට ගැටළුවක් නෑ. මේ වර්ග දෙක අනිවාර්යයි.), වතුර නොදා ලූණුවිල කිලෝ 8 ක ඉස්ම, සහිඳ ලුණු ග්‍රෑම් 150 යි, ඇට ඉවත් කරගත් පිරිසිදු රටඉඳි කිලෝ 3 යි, පිරිසිදු මුද්දරස්පලම් කිලෝ 1 යි.

මහ ඇඹිල්ල ගහේ පස්පංගුව කොටාගෙන නිවාගත්ත උණුවතුරින් මිරිකගෙන ලිපේ අළු ඒ දියරයෙන් දිය කරගෙන පෙරහනකින් පෙරා ගන්න. පෙරා ගත්ත දියරයට ලූණුවිල ඉස්ම ටික එකතු කරල සහිඳ ලුණු, රටඉඳි, මුද්දරස්පලම් අඹරගෙන ඒ සියල්ලමත් එකතු කරල සෙල්සියස් අංශක 80 ට නොවැඩි උෂ්ණත්වයක බස්සවල චූර්ණ මට්ටමට එනකොට බාගන්න.

අවුරුදු 5 ට අඩු දරුවන්ට උදේ හිස් බඩ සහ රාත්‍රී නින්දට පෙර තේ හැඳි 1/2 බැගින්, අවුරුදු 11 ට අඩු අයට තේ හැන්ද බැගින්, 11 ට වැඩි අයට තේ හැඳි 1 1/2 බැගින් සති 3 - 6 අතර කාලයක් සුව වෙනකල් දෙන්න.

මේ චූර්ණය ගන්නකොට බඩ විරේක වෙන්න පුළුවන්. මොළය හා සම්බන්ධ ආබාධ සුව වෙනවා. මොළයේ සිව්වලට, සියුම් කේශනාලිකාවලට ලේ ගෙනියන නහර අවහිර කරන කොලෙස්ටරෝල් වර්ගයක් නිසා ඇස් සිවිය දුර්වල වෙලා සුදින් වැසුන අවස්ථා තියේ නම්, ඒ කොලෙස්ටරෝල් දිය කරල ඇස් විරේක වෙනවා. ඒ වගේ අවස්ථාවල ඇස්වලින් කබ එන්න පුළුවන්. අවසානයේ ඒ අපද්‍රව්‍ය ඉවත් වෙලා නිරෝගි වෙනවා. එතකොට නැවතත් ඇස් සිවි පෝෂණය වෙලා පෙනීම ලැබෙනවා.

ඒ වගේම මීට අමතරව ඇසේ සුදට මේ ප්‍රතිකර්මයත් කරන්න. අඩි හත අටක් විතර දිග කොරසවැල් කැබැල්ලක් දෙපැත්තෙන් (අග, මුල) කපල අග පැත්තෙන් එල්ලල තිව්වම මුල පැත්තෙන් ජලය වෑස්සෙනවා. ඒ ජලය පෙරාගෙන සීතකරණයක තියාගෙන උදේ 7 ට විතර හා දවල් 2 ට විතර ඇස් දෙකට බිංදු 4 බැගින් දමන්න. මාස 3 ක් විතර යනකොට ඇසේ සුද ඉවත් වෙලා පෙනීම ලැබෙනවා. ඇස්වල වපර තියෙන අයටත් මේ ප්‍රතිකර්මය හොඳයි. වපර ගතිය ඉවත් වෙනවා.

### 4. ධාරණ ශක්තිය වඩවා මානසික අසමතුලිතතාවය දුරු කිරීම සඳහා

අවශ්‍ය අමුද්‍රව්‍ය :- පැහිච්ච අමු ආනමාලු ගෙඩිවල අග මුල ඉවත් කරල ලෙල්ල සමග පෙති ගහල වේළල කුඩු කරල පෙනේරයකින් හලාගත්ත පිටි කිලෝ 1 යි, විස හැරපු නෙල්ලික්ක ගෙන්දගම් ග්‍රෑම් 10 යි, ගුලි කරගන්න අවශ්‍ය ප්‍රමාණයට අබ කොළ සහ දඬු කොටා වතුර නොදා මිරික ගත් ඉස්ම. (කරල් හටගන්න පෙර අබ කොළ සහ දඬු කඩාගත යුතුයි. මොකද කරල් ආවම ගහ වේලිලා යන නිසා ඉස්ම ගන්න අපහසුයි.)

නෙල්ලික්ක ගෙන්දගම්වල විස ඉවත් කිරීමට පහත ක්‍රමය අනුගමනය කරන්න. සමහර විට වෙළඳසැල්වල විස ඉවත් කරපු නෙල්ලික්ක ගෙන්දගම් කියල විකුණන්න තිබුනත්, නැවත වරක් පහත ක්‍රමය අනුගමනය කිරීමෙන් 100% ක්ම විස ඉවත් වුනා කියල තහවුරු කරගන්න පුළුවන්. ඒ වගේම මේ බේත හදනකොට ඇළුමිනියම් වගේ ප්‍රතික්‍රියා කරන භාජන යොදා නොගන්නත්, පිරිසිදු අමුද්‍රව්‍ය යොදා ගන්නත් සැලකිලිමත් වෙන්න ඕන.

පිරිසිදු එළගිතෙල් බෝතල් 1/2 ක් ලිපේ තියල රත් වෙනකොට ඒකට නෙල්ලික්ක ගෙන්දගම් ටික එකතු කරන්න. රත් වෙලා දිය වෙන මට්ටමට එනකොට නෙල්ලික්ක ගෙන්දගම් රතු පාටට හුරු පැහැයක් ගන්නවා. හොඳින් විස හැර ගත යුතු නිසා විටින් විට හැඳි ගාන්න. ඉන්පසු රස්නෙ පිටින්ම බාගෙන, කල් නොයවා ප්ලාස්ටික් නොවන රෙදි හෝ වෙනත් ද්‍රව්‍යයකින් හදපු ගොටුවකින් පෙරාගෙන පිරිසිදු නැවුම් අමු එළකිරි බෝතලයක් (මිලි ලීටර් 750 ක්) ඒකට එකතු කරල විනාඩි 10 - 15 ක් පමණ හෙල්ලෙන්නෙ නැතිවෙන්න තියන්න. කිරි ටික හෙමිහිට පෙරල ඉවත් කරගත්තම භාජනය පතුලේ විස ඉවත් වෙච්ච නෙල්ලික්ක ගෙන්දගම් ටික හකුරු වගේ තැන්පත් වෙලා තියෙනවා. ඒ ටික ඉවත් කරගෙන හොඳින් කුඩු කරගන්න.

දැන් ආනමාලු පිටි සහ විස හැර ගත් නෙල්ලික්ක ගෙන්දගම්, අබ කොළ සහ දඬු සමග කොටා මිරිකගත් ඉස්මෙන් හොඳින් අනාගෙන කෝපි ඇට පමණට ගුලි කරල වේළල තියාගන්න.

අවුරුදු 5 ට අඩු දරුවන්ට රාත්‍රී නින්දට පෙර ගුලි 1 බැගින්, ඊට වැඩි අයට ගුලි 2 බැගින් වතුර ටිකක් සමග දෙන්න. මාස 2 ක් පමණ දීම ප්‍රමාණවත්.

මේ බෙහෙත්වලින් නිතර නිතර මුත්‍රා කරන, නිතර වැසිකිළි යන, නිතර ආහාර ගන්න හොයන, එක වැඩක බොහෝ වෙලාවක් යෙදිල ඉන්න බැරි, ඉවසීමක් නැති, අවවාද නුරුස්සන මෙබඳු ගති දුරු වෙනවා. නින්දෙන් මුත්‍රා යාම, මළපහ වීම, දෙඩවීම, ඇවිදීම, නිදාගත්ත තැන නොසිට දඟලීම... ආදී අසාමාන්‍යතා දුරු වෙනවා. මනස සමතුලිත වීම නිසා ධාරණ ශක්තිය වැඩෙනවා.

**(සැ. යු. :- නෙල්ලික්ක ගෙන්දගම්වල විස ඉවත් කිරීම නිසි ආකාරයට සිද්ධ කරගත යුතු නිසා හොඳින් අත්දැකීම් තියෙන කෙනෙක් ලවාම මේ බේත සාදවා ගත යුතුයි. දැනට වහරක අරිය චින්තාශ්‍රම විහාරස්ථානයේ සිදුකෙරෙන අරි සිතුම් සුවසෙත වෛද්‍ය සායනයෙන් මේ බේත ලබාගන්න පුළුවන්.)**

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

